සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ පොසොන් මස (ව්‍යවහාරික වර්ෂ 2018 ජූනි)

82 වෙනි කලාපය



## අරුත පටලවා ගත් සිං හිඳියාව

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# සුරාවෙහි ආදීනව...

සුරාවට ලොල්ව එයටම වහල් වෙලා
මුළාවට පත්ව සිහියද විකල් වෙලා
ජරාවට ලක්ව ලෙඩ දුක තුරුල් වෙලා
විනාසෙට මුල්ව දිවියද අවුල් වෙලා

බේබදු සැමියො බිරිඳට නිබඳ ගුටි දෙති
ඒ රුදු ගැහැට සමහර බිරියො ඉවස ති
බෝ රදු නැමැද දුක දෙවියනට පවස ති
නෑ සිදු වන සෙතක් කරුමෙ නොවැ පවස ති

ගොනු පසුපස හඹා යන රිය සක පරිදී
දනු පව ලුහු බඳී සසරෙහි කළ පෙරදී
මනු ලොව උපත ලැබුමට ඇත පින උරදී
අනු දැන එම දහම හළ යුතු පෙර වැරදී

මරා පුතුගෙ මස් වැළඳුව රස මුසුව
සුරා සොඬ රජෙක් විය පෙර කල විසුව
දරා ගත නුහුනි සිහි ආ විට පසුව
නිරා දුක තමා හිමි ලෙස මුනි දෙසුව

බීමත් රියැදුරන් ගැන පවසනු කුමට
තාමත් අඩුව නැත රිය අනතුරු එමට
මාවත් වල යෑම අද බියකරු බවට
සීපත් කරමු මෙය වියසනයකි රටට

දුරා චාරයෙන් රට මුදවනු පිණිස
සුරා පානයෙන් වැළකිය යුතු විගස
පුරා සාමයෙන් බැබලෙන විට නිවස
නිරා යාසයෙන් සුවපත් වෙයි මනස

පබැඳුම -
කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# ලෝක ස්වභාවය මුල් කරගෙන කමටහන් සැකසෙන අයුරු...

02 කොටස

නිවන් දකින කමටහනක් හරියට වැඩෙන්න නම් පළමුවෙන්ම බණ අහල ලෝක ස්වභාවය තේරුම් අරගෙන ඉන්න ඕන. වෙනත් විදිහකින් කියනව නම්, ලෝකයේ තියෙන අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය වැටහිලා තියෙන්න ඕන. ඒකට වචන පථ කටපාඩමින් තියෙන්න ඕන නෑ. අදහස වැටහිලා තිබීම ප්‍රමාණවත්. අදහස වටහා ගන්නත් මේ ලෝකය ගැන විග්‍රහ කෙරෙන විවිධාකාර ක්‍රම තියෙනවා. අන්න ඒ මොන ක්‍රමයකින් විග්‍රහ කළත් තමන්ට ගෝචර වෙන ක්‍රමයකට ලෝක ස්වභාවය වටහා ගැනීමයි අවශ්‍ය වෙන්නෙ. පසුගිය කලාපයෙන් විග්‍රහ කළේ මෙන්න මේ ලෝක ස්වභාවය ගැන යම් කිසි හැඳින්වීමක්. මේ ලෝකයේ පවතින මොන දෙයක් වුනත් පටිච්ච සමුප්පන්නවයි ගොඩනැගෙන්නෙ. ඒ පටිච්ච සමුප්පාදයේ එක අවස්ථාවක් තමයි සංඛාර පච්චයා විඤ්ඤාණං කියන්නෙ.

සංඛාර පච්චයා විඤ්ඤාණං කියල කිව්වට එක පාරටම ඕක තේරෙන්නෙ නෑ. විග්‍රහ කරල ගත්තම තමයි ඕක හොඳට තේරෙන්න පටන් ගන්නෙ. සත්ත්වයාට මේ ලෝකයේ ආස්වාදය භුක්ති විඳින්න අවශ්‍ය කරන ජාතියේ හිත් හට ගත්තම මොකද වෙන්නෙ? ඒ ජාතියේ හිතකට බහින අදහස් එනවා. ඒකට නැමිල හිටිනවා. ලස්සන රූප බලන එක හොඳයි, රූප බල බලා ඉන්න ඇත්නම්... ඔන්න හිතක් හට ගත්තා, විඤ්ඤාණයක් හට ගත්තා. ඔය හිත නිසාම ඒ විඤ්ඤාණය හැම වෙලේම ඉල්ලන දෙයක් තියෙනවා. ඒ නිෂ්පාදනය වෙච්ච ජාතියේ ලස්සන බලල තව තවත් නිෂ්පාදනය කරගන්න හිතෙනවා. ලස්සන ඒවා බලන්න ඕන කිව්ව අදහසේ පිහිටල, ඒ ජාතියේ ඒවම නැවත නැවත හොය හොයා බල බලා ඇසුරු කරන්න අදහසක් එනවා. ඒ ඇසුරු කිරීමට නැමිල හිටිනවා. අන්න ඒ නැමී සිටීමට නාම වුනා කියල කියනවා. ඊළඟට ඒක රුප්පනය කරනවා. නැත්නම් නැවත නැවත ඔප් නංවාගෙන ඒක භුක්ති විඳින්න බලනවා. එතකොට ඒක රූප වෙනවා. ඔය විදිහට නැමිල හිටල රූප පිළිබඳ අදහස එනකොට, ඔය විඤ්ඤාණයේම තමයි ඒ ජාතියේ නාම රූප බහින්නෙ කියල කියනවා.

ඒ නාම රූප බහිනකොට එන ප්‍රිය ස්වභාවයයි, මධුර ස්වභාවයයි තමයි මේ ලෝකෙ තියෙන මාර බන්ධනය කියන්නෙ. ලෝකයට ලෝක සත්ත්වයා නිකම්ම ඇලෙන්නෙ නෑ. මේ ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ආදී වශයෙන් භුක්ති විඳින ඇසුරු කරන පංච කාම වස්තු අතර, ප්‍රිය ස්වභාවයෙන් යුක්ත ඒවා තියෙනවා. අන්න ඒ ප්‍රිය ස්වභාවය නිසාම ලෝක සත්ත්වයා ඒවාට ඇලෙනවා. ඒවා ආස්වාදජනකයි. ආස්වාදජනක නිසාම ආස්වාදයේ බැඳිල නැවත නැවතත් ඒ ආස්වාදය භුක්ති විඳින බලාපොරොත්තුවෙන් මතු මතුත් බලාපොරොත්තු ඇති කර ගන්නවා. මේ බලාපොරොත්තු ඇති කරගෙන, බලාපොරොත්තු පරිදි ඒවට ගොදුරු වෙලා ඒවා පස්සෙ ගිහින්, ලැබෙන ලැබෙන ඒවා අල්ලගෙන භුක්ති විඳින්න යනවා.

ඒ වගේම මධුර ස්වභාවයෙන් යුක්ත ඒවා තියෙනවා. ඇහෙන් එන ඒවා ඇහෙන් අරගෙන භුක්ති විඳිනවා. කනෙන් එන ඒවා කනෙන් අරගෙන භුක්ති විඳිනවා. නාසයෙන් එන ඒවා නාසයෙන්, දිවෙන් එන ඒවා දිවෙන්, කයෙන් එන ඒවා කයෙන් අරගෙන භුක්ති විඳිනවා. මේ භුක්තිය නිසාම, ඒවාට ප්‍රිය මනාප නිසාම ඇස, කන, නාසය, දිව, කය, මන කියන මේ ඉන්ද්‍රියන් හය ඒවාට ආයතන කර ගන්නවා. ඉන්ද්‍රියන් හය ආයතන කරගත්තම කියනවා, නාම රූපයන් කෙරෙහි ප්‍රිය මනාපයෙන් බැඳීම නිසා සළායතන පහල කරගත්ත කියල. ඒවා ආයතන කරගෙන තමයි ඒ ඒ ප්‍රිය මනාප ධර්මයන්ගේ ස්පර්ශයන් ලබන්නෙ.

ඇහෙන්, කනෙන්, නාසයෙන්, දිවෙන්, කයෙන් ගන්න අරමුණුවල ප්‍රිය, මධුර ස්වභාවයක් තියෙනවා. මේකයි ඒ ප්‍රිය ස්වභාවය කියල ස්පර්ශ කරන්න පටන් ගත්තම කාම ස්පර්ශයක් හට ගන්නවා. මෙන්න මේ රූප කාම, ශබ්ද කාම, ගන්ධ කාම, රස කාම, පොට්ඨබ්බ කාම, ධර්ම කාම කියන මේ ඉන්ද්‍රියන් හයට ගෝචර වෙන කාමයන් ස්පර්ශ කරන්න පටන් ගත්තම, ඒවා ආයතන කරගන්නවා. වේදනාවක් / වින්දනයක් හට ගන්න නම් ස්පර්ශ කරන්නම ඕන. ලෝක සත්ත්වයා දුකේ නෙවෙයි බැඳෙන්නෙ. අර ප්‍රිය මධුර ස්වභාවයෙන් යුක්ත ආස්වාදයට. අන්න ඒ ආස්වාදය සුවයි සුවයි කියල ඒක බැඳ ගත්තම මොකද වෙන්නෙ? වින්දනයක් ඇති වෙනවා. එතකොට ඇතිවෙන්නෙ ඒ වීම පිළිබඳව නැවත නැවතත් බලාපොරොත්තු වීමේ ගති ලක්ෂණය. යම් කිසි වීමක් දනවනවා, දැනෙන්න ගන්නවා. එතකොට වේදනා කියල කියනවා. ඒ වේදනාව සැප නම් ඒක තවත් එකතු කරගන්න බලනවා, ඒ වීම ධන කරගන්න බලනවා. ධන ඍණ කියල 2 ක් තියෙනවා. ධන වෙනව කියන්නෙ එකතු වෙනවා. අපේ භාෂාවෙන් මෙහෙම කියනකොට තේරෙනවා.

වීමක් එකතු කරගත්තම වීම් ගොඩක් මනසින් ගන්නවා. අතීතයේ වෙච්ච දේවල් එකතු කරගන්නවා. එවෙලෙ වෙන ඒවත් එකතු කරගන්නවා. අනාගතයේ බලාපොරොත්තුත් ඇති කරගන්නවා. මේ සියලුම වීම් ධන කරගත්තම වේදනා වෙනවා. එතකොට අර ප්‍රිය, මධුර ස්වභාවය ඒ තුලින් මතු වෙනකොට ඒකෙ ඇලිල බැඳිල ඉන්න නිසාම එතැන හා

වෙනවා. තැන්හි හා වෙනවා. තැන්හි හා වෙනකොට කියනවා, වේදනා නිසා තණ්හා වුනා කියල. අර ප්‍රිය, මධුර ස්වභාවයට තියෙන කැමැත්ත නිසා ඕකට නන්දි කියල වචනයක් කියනවා. නන්දනය කරනවා. අන්න එතන කැමැත්තෙන් බැඳුනම මොකද වෙන්න? ඒ ස්ථානය කරා ඇදිල හිටිනවා. ගලව ගන්න බැරිව රූප කාමය මතු වුනාම ඒ ප්‍රිය, මධුර ස්වභාවය නිසා ඒක හොඳයි කියල නිගමනය කරල ඒ තැන ඇලිල ඉන්නකොට, ඒ උප ස්ථානයට හෙවත් ආසන්නයට ඇදිල හිටල උපාදාන වුනා කියනවා. එතකොට ඒක කාමයක් නම් කාම උපාදානයෙන් කාම භව ඇති වෙනවා. ඒක රූප ආස්වාදයක් නම් රූප උපාදානයෙන් රූප භව ඇතිවෙනවා. කාමයි, රූපයි දෙකම අහක් කළාම අරූප ආස්වාදයක් නම් ඒකෙ අරූප රාගය හෙවත් එතැන බැඳීම ඇතිවෙනවා. අරූප උපාදානයෙන් අරූප භව ඇතිවෙනවා.

ඒ නිසා මේ ලෝක සත්ත්වයා ලෝකයේ සැරිසරනකොට එක්කො කාම භවයක, එක්කො රූප භවයක, එහෙම නැත්නම් අරූප භවයක සැරිසරනවා. යම් තැනක භව හට ගත්ත නම් ඔය ශක්තියත් එක්කම පැවැත්මේ ශක්තිය ගැන මතු බලාපොරොත්තුවක් හට ගන්නවා. මේ විදිහට ඒ ඒ භවයට තියෙන බලාපොරොත්තු නිසාම ඒ භවට පත් වුනාම, ඒ භවයේ ඉඳල කෙළවරක් නැතිව මතු මතුත් බලාපොරොත්තු ඇති කරනවා. යළි යළිත් රූප බලන්න ඕන, ප්‍රිය මනාප රූප යළි යළිත් ඇත්නම්..., ප්‍රිය මනාප ශබ්ද යළි යළිත් අහන්න ඇත්නම්..., ප්‍රිය මනාප ගන්ධ යළි යළිත් ගන්න ඇත්නම්..., ප්‍රිය මනාප රස යළි යළිත් භුක්ති විඳින්න ඇත්නම්..., ප්‍රිය මනාප ස්පර්ශ යළි යළිත් ගන්න ඇත්නම්..., ප්‍රිය මනාප දේවල් යළි යළිත් හිත හිතා ඉන්න ඇත්නම්... ආදී වශයෙන් බලාපොරොත්තුවක් ඇති වෙනවා. මෙන්න මේ බලාපොරොත්තුව ඇතිවෙනකොට ශක්තියක් නිකුත් කරනවා. ඒ ශක්තිය තමයි කර්ම ශක්තිය ඇති කරන මූලස්ථානය. හිත තුළ මේ ටික නැගෙනකොට මේකෙන් ඇති වෙන්නා වූ ආස්වාදයේ ප්‍රිය මනාපය නිසා, බැඳීම නිසා, යළි යළිත් බැඳීමට හේතු වෙනවා. මතු එබඳුම තැන්හි හා වෙන්න හෙවත් තණ්හාවකට හේතු වෙනවා.

බුදු පියාණන් වහන්සේ බෝධි සත්ත්ව අවස්ථාවෙදිම දැක්කා, මෙන්න මේ තැන්හි හාවෙන වඩුවා තමයි මේ ගෙය නමැති ශරීරය හදන්නෙ කියන කාරණය. තණ්හා නමැති වඩුවා ගේ හදනව කිව්වෙ ඒකයි. මේ ගේ හදාගත්තම මොකද වෙන්නෙ, අර භව ශක්තිය නිකුත් කරල මෙලොවදී කටයුතු කරනකොට කර්ම භව කියල එකක් හටගෙන ඒකෙන් ලැබෙන්නාවූ අතිරේක ශක්තියක් ලෝකයට නිදහස් වෙනවා, නැවත නැවතත් ඒ අවශ්‍ය දේ නිෂ්පාදනය කරල දෙන්න. එතකොට ලෝක සත්ත්වයා ප්‍රිය මනාපයක් ගන්න ඇසක් බලාපොරොත්තු වෙනවා. මොකද ප්‍රිය මනාපය බලන්න ඇසක් ඕන වෙනවා. හැබැයි ඇහෙන් විතරක් ප්‍රිය මනාපය ගන්න බෑ. රූපයකුත් ඕන වෙනවා. ඒ නිසා ඒ ප්‍රිය මනාපය ගෙනත් දුන්න ජාතියේ රූපයකුත් බලාපොරොත්තු වෙනවා. ඊළඟට ප්‍රිය මනාප ශබ්ද අහන්න කනක් බලාපොරොත්තු වෙනවා. හැබැයි කනෙන් විතරක් ශබ්දය ගන්න බෑ, ශබ්ද ආස්වාදයක් විඳින්න බෑ. ඒ ආස්වාදය ගෙන දෙන්නා වූ ශබ්දයක් බාහිර ලෝකයෙන් බලාපොරොත්තු වෙනවා. ආග්‍රහණ ආස්වාදය විඳින්න නාසයක් බලාපොරොත්තු වෙනවා. නාසයට විතරක් ආග්‍රහණය ගන්න බැරි නිසා බාහිරින් ගන්නා වූ ආග්‍රහණ හේතු කාරක වන්නා වූ ප්‍රිය මනාපයක් බලාපොරොත්තු වෙනවා.

ඒ වගේම දිව බලාපොරොත්තු වෙනවා රස විඳින්න. නමුත් දිව තිබුනට විතරක් මදි. බාහිර ලෝකයෙන් දිවට ගෝචර වන්නා වූ රස කියන දෙයක් එන්න ඕන. ඒකත් බලාපොරොත්තු වෙනවා. ඊළඟට කය බලාපොරොත්තු වෙනවා පහස විඳින්න. කය විතරක් තිබුනට බෑ. බාහිරින් ඒකට හේතු කාරක වන්නා වූ ආස්වාද දෙන ස්පර්ශයක් බලාපොරොත්තු වෙනවා. ඒ නිසා ස්පර්ශ දෙන වස්තුවක් බලාපොරොත්තු වෙනවා. ඊළඟට මන බලාපොරොත්තු වෙනවා, මනෝමය වශයෙන් හිතන්න. හිත හිතා ආස්වාද විඳින්න. හැබැයි මනසට ආස්වාද නිකං දෙන්න බෑ. ඒ සඳහා මනසට ධර්ම සට්ටනය වෙලා හිත් පහල වෙන්න ඕන. එහෙනම් ධර්ම කියන්නා වූ නාම ධර්මයක් බලාපොරොත්තු වෙනවා මනසින් ස්පර්ශ කරන්න. මේ බලාපොරොත්තුවක් කියල කියන්නෙ අපි කියන ආසාව. ඒකට තමයි අර වඩුවා කියල කිව්වෙ. මේ වඩුවා මතු මතුත් ශක්තිය නිපදවල දෙනවා, මතු මතුත් භවය හදල දෙනවා.

දැන් වඩුවගෙ ක්‍රියාකාරීත්වය දෙපැත්තකින් ක්‍රියාත්මක වෙනවා. එකක් අභ්‍යන්තර ආයතන කියල කිව්ව ඇස, කන, නාසය, දිව, කය, මන හදන්න. අනික බාහිර ආයතන විදිහට තියෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන මේ ටික නිපදවල දෙන්න. මෙන්න මේ අභ්‍යන්තර ආයතනයි, බාහිර ආයතනයි කියන 2 එකතු කරගෙන කරන වැඩපිළිවෙල තමයි මේ සත්ත්වයා කියල කියන්නෙ. ආස්වාද විඳ විඳ ගමනක් හදාගෙන තියෙන්නෙ ඔය ටිකෙන්. මෙන්න මේ ටික එකතු වුනාම තමයි ජාති හැදෙන්නෙ. භව පච්චයා ජාති කිව්වෙ ඕකට.

ඔය හට ගත්ත ජාතියක් යම් කාලයක් පවතිනවා. එහෙනම් මොන ජාතිද හට ගන්නෙ? ප්‍රධාන වශයෙන් ඇස් ජාතියක් හට ගන්නවා, කන් ජාතියක් හටගන්නවා, නාස් ජාතියක් හට ගන්නවා, දිව් ජාතියක් හටගන්නවා, කාය ජාතියක් හට ගන්නවා, හිත් ජාතියක් හට ගන්නවා. මෙන්න මේ හට ගන්න ජාති ටික ජාති පොදියක් විදිහට ගන්නවා. කාම අරමුණු පළමු ජාති පහෙන්ම අරගෙන හයවෙනි ජාතිය වන හිත් ජාතියෙන් ආස්වාද විඳිනවා. එහෙනම් ආස්වාද විඳින්නත් මේ ජාති හය ඕන. අප්‍රමාණ සංසාරයේ පටන් ලෝක සත්ත්වයා කරල තියෙන්නෙ ඔය ජාති හය නිෂ්පාදනය කරගෙන, ඔය ජාති හයට ගෝචර වෙන බාහිර ලෝකයේ යමක් නිෂ්පාදන කර ගැනීම. හැබැයි දැනුවත්ව නෙවෙයි නිෂ්පාදනය කරන්නෙ. ඒ ශක්තිය දුන්නම, බලාපොරොත්තු ඇති කළාම, අපි දැනගෙන හිටියත් නැතත් ඒක නිෂ්පාදනය වෙනවා. මෙන්න මේකට කියනවා කර්ම ශක්තියේ ක්‍රියාවලිය සිද්ධ වෙනවා කියල.

මෙන්න මේ බලාපොරොත්තුව යම් තාක් කල් අපිට පවතිනවද, ඒ තාක් කල් මතු මතුත් ජාති පහල කරගන්න ශක්තිය නිෂ්පාදනය කරනවා. යම් දවසක මේ බලාපොරොත්තුව සහමුලින්ම සිඳිල ගිය දාට එබඳු ඇස් ජාතියක්, කන් ජාතියක්, නාස් ජාතියක්, දිව් ජාතියක්, කාය ජාතියක්, හිත් ජාතියක් පහල කරන්න තිබුන ශක්තිය ඉවරයි. ඒ ටික ඉවර වුනා නම් රූප ජාතියක්, ශබ්ද ජාතියක්, ගන්ධ ජාතියක්, රස ජාතියක්, ස්පර්ශ ජාතියක්, ධර්ම ජාතියක් ආශ්‍රය කරන්න විදිහක් නැති නිසා, ඇසුරු කරන්න තිබුන හේතු කාරකය ඉවරයි. එදාට සත්ත්වයා ඉවරයි. අන්න ඒ තමයි හට ගැනීමක් නැති තැන. ඒ තැනට පත් වුනාට පස්සෙ ජාතියක් නෑ. ජාතියක් නැත්නම්

ජරාවක් නෑ, ව්‍යාධියක් නෑ, මරණයක් නෑ. මේ තමයි බුදු පියාණන් වහන්සේ ක්‍රමානුකූලව දැක්ක පටිච්ච සමුප්පාදය. මෙන්න මේක අපිත් දැකගන්න ඕන. මේක තමයි ජාතියටම හේතුව.

දැන් ඉතින් අපි දැනගන්න ඕන එක දෙයක්. නොයෙක් නොයෙක් ආකාරයෙන් මේවා ප්‍රභේද කරල තියෙනවා. මේ ටික ඔක්කොම ගතයි හිතයි කියල ප්‍රභේද කරල තියෙනවා. සමහර වෙලාවට නාම ධර්ම, රූප ධර්ම කියල වෙන් කළා. තව අවස්ථාවකදි මේ ටික රූප ධර්ම, වේදනා ධර්ම, සංඥා ධර්ම, සංඛාර ධර්ම, විඤ්ඤාණ ධර්ම කියල 5 ක් වෙන් කරල පංචස්කන්ධය කියල කිව්වා. ඒ එක අවස්ථාවක, ලෝක වශයෙන් අරගෙන මේ සියල්ලම කාම ලෝකය, රූප ලෝකය, අරූප ලෝකය කියල ලෝක 3 කටත් වෙන් කළා. මේ තව ක්‍රමයක්. ආයතන වශයෙන් අභ්‍යන්තර ආයතන හයක් සහ බාහිර ආයතන හයක් වශයෙන් දොළොස් ආයතනයකට වෙන් කළා. චක්ඛායතන, සෝතායතන, ඝානායතන, ජිව්හායතන, කායායතන, මනායතන, රූපායතන, ශබ්දායතන, ගන්ධායතන, රසායතන, පොට්ඨබ්බායතන, ධම්මායතන කියල කියන්නෙ ඒ 12.

ඊළඟට ධාතු වශයෙන් චක්ඛු ධාතු, රූප ධාතු, චක්ඛු විඤ්ඤාණ ධාතු, සෝත ධාතු, ශබ්ද ධාතු, සෝත විඤ්ඤාණ ධාතු, ඝාන ධාතු, ගන්ධ ධාතු, ඝාන විඤ්ඤාණ ධාතු, ජිව්හා ධාතු, රස ධාතු, ජිව්හා විඤ්ඤාණ ධාතු, කාය ධාතු, පොට්ඨබ්බ ධාතු, කාය විඤ්ඤාණ ධාතු, මනෝ ධාතු, ධර්ම ධාතු, මනෝ විඤ්ඤාණ ධාතු කියල ධාතු 18 කට වෙන් කළා. දැන් මේ කියන ඒවා ඔක්කොම කිව්වෙ සත්ත්වයාට. ඔය සත්ත්වයා කිව්ව, නාම රූප පිණ්ඩය කිව්ව ඒ ටිකම තමයි ඔය විදිහට එක එක ආකාරයෙන් ස්කන්ධ වශයෙන්, ධාතු වශයෙන්, ආයතන වශයෙන් වෙන් කරල තියෙන්නෙ. ඉතින් කොහොම පෙන්නුවත්, එක එක්කෙනාගෙ දැනීම් මට්ටම අනුව විග්‍රහ කරල බලා ගන්නයි මේ සත්ත්වයා කොටස් කරල පෙන්නුවේ. ඔතන ලෝකයම කොටස් කරල තියෙනවා.

නාමයයි, රූපයයි කිව්වම අභ්‍යන්තර නාම රූප, බාහිර නාම රූප කියල දෙපැත්තකින් බාහිර ලෝකය කියන, සත්ත්වයා කියන දෙකම වෙන් කළා. ඊළඟට එතැනින් අරගෙන ස්කන්ධ වශයෙන් වෙන් කළා. රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංඛාර ස්කන්ධය, විඤ්ඤාණ ස්කන්ධය කියල ස්කන්ධ 5 ක් වෙන් කළා. ඔය ස්කන්ධ 5 කියල ගත්තම, පංචස්කන්ධ සංඛ්‍යාත ලෝකය කියල ඒකට නමක් තිව්වා. පංචස්කන්ධ සංඛ්‍යාත ලෝකයයි කියල වචනයකින් එතනත් විග්‍රහ කරල පෙන්නුවා. කොහොමද පංචස්කන්ධය පෙන්නුවේ? පළවෙනි එක රූප ස්කන්ධය. මේ රූප ස්කන්ධය කියන එක විග්‍රහ කර ගැනීම වැදගත් වෙනවා. ඒ කාරණය මෙන්න මෙහෙම පෙන්වනවා.

අභ්‍යන්තර වේවා, බාහිර වේවා, දූර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, රූපයයි යමක් යම් තැනක වීද (අතීත), යම් තැනක වෙයිද (වර්තමාන), මතු යම් තැනක වන්නේද (අනාගත), මේ සියලුම ටික එකතු කළාම රූප ස්කන්ධය කියල කිව්වා. හැබැයි මෙතනදි ඇහෙන් දකින රූප විතරක් නෙවෙයි ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, ස්පර්ශ රූප, ධර්ම රූප කියන ඒවත් අයිතියි. ඊළඟට අභ්‍යන්තර වේවා, බාහිර වේවා, දූර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, වේදනා යයි යමක් වීද, දැන් යමක් වෙයිද, මතු යමක් වන්නේද, ඒ සියල්ලම කැටි කරල ගත්තම වේදනා ස්කන්ධය කියල පෙන්නුවා.

අභ්‍යන්තර වේවා, බාහිර වේවා, දූර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, සංඥා යයි යමක් යම් තැනක පෙර වීද, දැන් වෙයිද, මතු වන්නේද, ඒ සියල්ලම කැටි කරල සංඥා ස්කන්ධය කියල කිව්වා.

ඊළඟට යම් කිසි දෙයක් අපිට දැනෙනව නම් ඒ දැනෙන ස්වභාවය කිව්වෙ මොකක්ද? වේදනා වීමක් දැනෙනවා. වීමක් ධන කරනවා. නැත්නම් ඕවා නිකම්ම දැනෙන්නෙ නෑ. රූප දැනෙනවා, ශබ්ද දැනෙනවා, ගන්ධ දැනෙනවා, රස දැනෙනවා, ස්පර්ශ දැනෙනවා. මේ වීම් එකතු වුනාම සිද්ධ වෙන දෙයක් තමයි වේදනා. එතකොට සංඥා කිව්වෙ මොනවද? දැනෙන්නෙ මොනවද? දැනීමෙන් ගෝචර වෙන්නෙ මොනවද? ඒ ඒ හැඩරුව, මෙබඳු සංඥාවක්, මේ රූපය එක එක ආකාරයි, මේ ශබ්දය එක එක ආකාරයි, මේ ගන්ධය එක එක ආකාරයි, මේ රස එක එක ආකාරයි, මේ ස්පර්ශය එක එක ආකාරයි, මේ ධර්ම එක එක ආකාරයි... වශයෙන් ආකාර ස්වභාවයන් ගන්නවා. මනසින් හැඩගහ ගන්නවා. මෙන්න මේවාට කියනවා සංඥා කියල. මේවායේ ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය නිසා ඒවා පිළිබඳ ඇලිල, බැඳිල යම් කිසි පුද්ගලයෙක් යම් කිසි ආස්වාද සහගතව හිතනවද, කියනවද, කරනවද, මෙන්න මේ සියල්ලම සංඛාර ස්වභාවයට වැටෙනවා. සංඛාර ස්කන්ධ කියන්නෙ ඒවා.

ඒ වගේම අභ්‍යන්තර වේවා, බාහිර වේවා, දූර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, සංඛාර යයි යමක් පෙර වීද, දැන් වෙයිද, මතු වන්නේද, ඒ සියල්ලම කැටි කරල සංඛාර ස්කන්ධය කියල කිව්වා. එතකොට මේ හිතෙන්, කයෙන්, වචනයෙන් ප්‍රියයි මනාපයි කියන හැඟීමක පිහිටල ඇලිල බැඳිල යම් යම් දේවල් හිතනකොට, කියනකොට, කරනකොට, ඒවා පිළිබඳ හිතක් පහල වෙනවා. යම් කිසි අදහසක්, යම් ගති ලක්ෂණයක් පහල වෙනවා හිතන්න. ඒ ජාතියේම හිතක්, ඒවාම නැවත නැවතත් කර කර ආස්වාද විඳින්න තව හිතක් පහල වෙනවා. ඒ ආකාරයෙන් හිතන්න පහල වෙච්ච එකෙන් සිතිවිලි පහල කරනවා. කියන්න පහල වෙච්ච හිතෙන් කියන්න හැකියාව පහල කරනවා. කරන්න පහල වෙච්ච හිත්වලින් කරන්න හැකියාව පහල කරනවා. මෙන්න මේවාට මනෝ සංඛාර, වචී සංඛාර, කාය සංඛාර කියල කිව්වා.

එතකොට මේවා පහල වෙන්නෙ කොහෙද? අර හිතේ. නැත්නම් විඤ්ඤාණයේ. ඒ ඒ ජාතියේ හිත්වල හෙවත් විඤ්ඤාණවල. හිත කිව්වම එකක් නෙවෙයි. හිත කියල වැටහෙන නිසා හිත කිව්වට, ලෝක සත්ත්වයා එතැන නැවතිලා නෑ. ලෝක සත්ත්වයා මොනවා වටහා ගන්නද බලාපොරොත්තුවෙන් ඉන්නෙ? ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය ගෙනත් දෙන රූප වටහා ගන්න, ශබ්ද වටහා ගන්න, ගන්ධ වටහා ගන්න, රස වටහා ගන්න, ස්පර්ශ වටහා ගන්න. මේවත් එක එක මට්ටමට එක එක ගති ලක්ෂණ අනුව යෙදෙනවා. කාම ගති ලක්ෂණය නම්, ආස්වාදය බලාපොරොත්තුවෙන් ඒකෙ ප්‍රිය මනාපයේ බැඳිල කාම සහගත රූප වටහා ගන්න, රූප ඇසුරු කරන්න. ඒ වගේම කාම ශබ්ද, කාම ගන්ධ, කාම රස, කාම ස්පර්ශ, කාම ධර්ම මේවා අසුරු කරන්න යම් හිතක් පහල වෙනවද, යම් හිත් ප්‍රභේදයක් හට ගන්නවද, ඒවා ඒ ජාතියේ කාම හිත් කියල හැඳින් වුවා. නැත්නම් රාග හිත් කියල හැඳින් වුවා.

***පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:***

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් ලැබ දෙන කමටහන්...



**02 කොටස**

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතු කර දුන් තවත් වටිනා කමටහන් පෙළක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. උන්වහන්සේව ගිහි කාලයේ පටන් ඇසුරු කළ තවත් ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් මේ සමහර කමටහන්වලට නිධාන වෙච්ච කතා වස්තුවත් මේ විදිහට හෙළිදරව් කළා.

මම දවසක් අබේරත්න උපාසක මහත්තය කරපු විශේෂ ධර්ම සාකච්ඡාවකට සහභාගි වෙලා ආපහු එන ගමන්, අතරමග තිබුන ඓතිහාසික රජමහා විහාරස්ථානයකට ගොඩ වුනා. ඒකෙ විහාරාධිපති පදවිය දරපු තරුණ භික්ෂූන් වහන්සේ මම දැක්ක ගමන් බොහොම ගෞරවයෙන් පිළිඅරගෙන ආගන්තුක සත්කාර කරල, අපේ හාමුදුරුවනේ කොහොමද අබේරත්න උපාසක මහත්තයගෙ ධර්ම සාකච්ඡාවලට ගියාද, කොහොමද ධර්ම සාකච්ඡා හොඳයිද... මේ ආදී වශයෙන් නොයෙක් ප්‍රශ්න ඇහුවා. මම නම් ඉතින් මේ ළඟදි තමයි එතුමන් ගැන දැන ගත්තෙ, දැනට නම් කරපු ධර්ම සාකච්ඡා පිළිබඳව මහා විශේෂත්වයක් තියෙනවා, බොහොම පැහැදිලියි පිරිසිදුයි, ඒ වුනත් තව කිහිප වතාවක් යන්න තමයි මගේ අදහස කියල මම උන්වහන්සේට කිව්වා. ඒ වගේම මම උන්වහන්සේගෙන් ඇහුවා, ඔබවහන්සේ අබේරත්න උපාසක මහත්තයගෙ බණ එහෙම අහල තියෙනවද, එතුමන් ගැන දන්නවද කියල.

එතකොට උන්වහන්සේ මෙහෙම කියනවා. ඔව් ඔව් මම එතුමා ගැන හොඳට දන්නවා. මමත් කිහිප වතාවක්ම ගියා. බොහොම විශේෂ උත්තමයෙක් තමයි. මමත් අපේ පන්සලට යන එන අය අතර විශේෂ කිහිප දෙනෙකුටම අබේරත්න උපාසක මහත්තය ගැන කියල තියෙනවා. අහවල් ගමේ ඉන්නවා විශේෂ උපාසක මහත්තයෙක්, විශේෂ ධර්ම සාකච්ඡා එහෙම කරනවලු, විසාල පිරිසක් යනව කියලත් ආරංචියි, කැමති නම් ගිහින් ටිකක් හොයල බලන්න කියල තමයි මම ඒ අයට කියන්නෙ. ළඟපාත නිසා මම ඉතින් නිතරම යන්නෙ නෑ. මොකද අවට ඉන්න පිරිස මම අඳුනනවා. මම යන එක දැනගන්න නිසා මම ඉතින් අනික් අයට නොකිය රහසිගතව තමයි එතුමන් හමුවෙන්න යන්නෙ. මොකද හාමුදුරුවො නමක් ගිහියෙක්ගෙන් බණ අහන්න යනවයි කියල දැනගත්තම ඒකටත් පහර ගහන අය ඉන්නවා. නමුත් දැන් එහෙම යන්නත් බෑ. මොකද රෑ දවල් දෙකේම එක වගේ සෙනග යනව එනවා. මම ගියේ ඒ කාලෙ රාත්‍රියේ. ඒ කාලෙ රෑට සෙනග අඩුයි. මම යවපු අයත් මට නැවත ඇවිත් කියනවා, අපිත් ගියා අබේරත්න උපාසක මහත්තයගෙ ධර්ම සාකච්ඡාවලට, බොහොම විශේෂ සාකච්ඡා කරනවා, මහා විශේෂ කෙනෙක් කියල. ඒ වුනාට මම වැඩිය තොරතුරු අහන්න යන්නෙ නෑ. මම එතුමන් හමුවෙන්න යන බව දැනගන්න නිසා මම ඉතින් නිහඬවම ඉන්නවා.

අපේ විහාරස්ථානවල අපි බණද කියන්නෙ? සාසනය වෙනුවෙන් කැප වෙලා ඉන්න අපි පෙළ දහම් පොතක් බලන්නවත්, අනික් අයට දහම් පදයක් හරියට කියල දෙන්නවත් උනන්දුවක් නෑ. අපි සම්පූර්ණයෙන්ම කාලය යොදවල තියෙන්නෙ බාහිර කටයුතුවලට විතරයි. අවසානයේ අපි අපට කරගත්ත දෙයක් නෑ. ගම හදන්න රට හදන්න මහන්සි වුනාට ඒ සඳහා කරපු දේකුත් නෑ. අපිට මේක තේරෙන්නෙ කවදහරි දවසක අවසන් කාලෙ ඇඳට වැටුනට පස්සෙ තමයි. අපි පන්සල්වලට වෙලා කරන රාජකාරි කටයුතු දිහා බැලුවම, ඇත්තටම අපි භික්ෂූන් වහන්සේලා වශයෙන් ලැජ්ජ විය යුතුයි. අපිට අයිති දේවල් නෙවෙයිනෙ අපි කරන්නෙ...

මේ ආදී වශයෙන් විවිධ කරුණු කාරණාවන් රාශියක්ම දීර්ඝ වශයෙන් පැහැදිලි කරල උන්වහන්සේ මට මෙහෙම කියනවා. අබේරත්න උපාසක මහත්තය කියන ඒව නම් ඇත්ත. ඒ වුනත් අපි කොහොමද හාමුදුරුවනේ මේවායේ ඉඳගෙන බණ භාවනා කරන්නෙ? අපි මේවායේ ඉන්න විදිහට අපි කරන වැඩ රාජකාරිත් එක්ක අපිට කිසිම විවේකයක් නැති එකත් මහ ප්‍රශ්නයක් තමයි... උන්වහන්සේ මෙහෙම කියනකොට මම කල්පනා කළා, වෙනත් විහාරස්ථානවල ඉන්න භික්ෂූන් වහන්සේලාට වඩා බොහොම ගුණ යහපත් පැත්තක් මේ හාමුදුරුවන් ළඟ තියෙන බව. හරි දේ තමන් නොකළත්, වැරදි දේ වැරදි විදිහට දැකීමම විශේෂ ගුණයක් හැටියටයි මම දැක්කෙ. ඒ නිසා මම කිව්වා, ඔව් ඔව් ඒක ඇත්ත, විහාරස්ථානයක ඉන්න කෙනෙකුට විවේකයක් නම් නෑ තමයි, විහාරස්ථානයක් පවත්වගෙන යන කෙනෙකුට ඒ ගැන අමුතුවෙන් කියන්න දේකුත් නෑ තමයි, කොහොම වුනත් මේ ලෝකෙ විවේක තියෙන කවුරුවත්ම නෑ කියල. එතකොට උන්වහන්සේ මෙහෙම කියනවා. ඔව් ඔව් ඒක නම් ඇත්ත. විවේක ඕන කෙනා විවේකය හදාගන්න එපැයි. විවේක නැතිවමත් නෙවෙයි ඉතින්. හාමුදුරුවනේ ඊටත් වඩා ප්‍රශ්නයක් නම් තියෙනවා. ඒ තමයි අවංකයි පිරිසිදුයි කියල භාවනා කරන්න නම් අපි අවංක වෙන්න එපැයි? නිකම්ම අවංකයි අවංකයි කිය කියා හිටියට වැඩක් නෑනෙ!

ඒ හාමුදුරුවො මෙහෙම කිව්වම, මම ඉතින් උන්වහන්සේට මෙහෙම කිව්වා. මම මේ විහාරස්ථානයට ආවෙත්, ඔබවහන්සේ දැක්කෙත් අදමයි. ඔබවහන්සේ අපේ සංඝ සභාවෙත් නෙවෙයි, වෙන සංඝ සභාවක. මමත් වෙන සංඝ සභාවක. මම ආරණ්‍ය සේනාසනයක වැඩ ඉන්නෙ, ඔබවහන්සේ විහාරස්ථානයක වැඩ ඉන්නෙ. මම හැම අතින්ම

පිට කෙනෙක්. ඔබවහන්සේ කියන්නෙ, අවංකයි කියල කියන්න නම් අවංක වෙන්න එපැයි කියල. ඒ කියන්නෙ තමන් අවංක නෑ කියන එකනෙ. නමුත් අවංක නිසා නෙවෙයිද, අඳුනන්නෙ නැති මම ඉදිරිපිටදි ඔබවහන්සේ අවංක නෑ කියන්නෙ? ඔබවහන්සේ අවංක නිසාමයි එහෙම කියන්නෙ. නැත්නම් පිටින් ආපු මට ඇයි තමන් වැරදි කරනවා කියල කියන්නෙ? මාත් එක්ක එහෙම කියන්න කොහෙත්ම අවශ්‍යතාවයක් නෑ. ඒ නිසා මට නම් හිතෙන්නෙ ඔබවහන්සේ අවංකයි. ඔබවහන්සේගෙ අන්න ඒ අවංකභාවය නැවත නැවත සිහි කරන්න...

මේ ආදී වශයෙන් මම උන්වහන්සේට උපදෙස් දුන්නා. මොකද මට වඩා පැවිදි භාවයෙන් අඩුවීමත් උපසම්පදා වෙලා එක අවුරුද්දකින් මට වඩා අඩු වීමත්, සුහදව කතාබහ කරල බෙහෙවින් හිතවත් වීමත් කියන කාරණා මතයි මම එහෙම උපදෙස් දුන්නෙ. පස්සෙ උන්වහන්සේ ටික වෙලාවක් නිහඬව ඉඳල මට මෙහෙම කියනවා. ඇත්ත තමයි මම අවංක නැත්නම්, මට බොරුවක් කියන්න තිබුනනෙ. දැන් තමයි මට තේරුනේ. මම හාමුදුරුවො එක්ක මේ ගැන කතාබහ කළ නිසා හොඳයි. මම අද ඉඳලම භාවනා කරන්න පටන් ගන්නවා. මේ විදිහට උන්වහන්සේ බොහොම නිහතමානීව කිව්වා.

මම ඉතින් අබේරත්න උපාසක මහත්තය මුණගැහුන අවස්ථාවක මේ සිදුවීමත් කිව්වා. මට මෙන්න මේ විදිහෙ අවස්ථාවකට මුහුණ දෙන්න සිද්ධ වුනා, මම ඉතින් මේ වගේ උපදේශයක් ඒ ස්වාමීන් වහන්සේට දුන්නා කියල. ඒ අවස්ථාවෙ අබේරත්න උපාසක මහත්තය මෙහෙම කියනවා. ස්වාමීන් වහන්සේ එහෙම කියපු එක හොඳයි. බොහෝ දෙනෙක් අවංකයි කියල කියන කොටම හිතනවා, සියල්ලෙන්ම අවංකයි කියල. පිරිසිදුයි කියනකොටත් හිතනවා, සියල්ලෙන්ම පිරිසිදුයි කියල. නමුත් එහෙම අදහස් අරගෙන බෑ. අවංකයි, පිරිසිදුයි, පිවිතුරුයි, පබසරයි කියනකොටම තමන්ගෙ අදහසට එන්න ඕන, කායික වැරදි යම් තරමකින් නැත්ද, ඒ තරමින් අවංකයි, වාචසික වැරදි යම් තරමකින් නැත්ද, ඒ තරමින් පිරිසිදුයි, මානසික වැරදි යම් තරමකින් නැත්ද, ඒ තරමින් පිවිතුරුයි (පවිත්‍රයි), ලෝකයේ නැවත බිහි කිරීමට යම් තරමක් බලාපොරොත්තු නැත්ද ඒ තරමින් පබසරයි (ප්‍රභාස්වරයි) කියල.

අවංක වුන තරමින් අවංකයි

පිරිසිදු වුන තරමින් පිරිසිදුයි

පිවිතුරු වුන තරමින් පිවිතුරුයි
(පවිත්‍ර වුන තරමින් පවිත්‍රයි)

පබසර වුන තරමින් පබසරයි
(ප්‍රභාස්වර වුන තරමින්
ප්‍රභාස්වරයි)

අපි හිතමු ගල් පඩි 40 ක් තියෙන යම් පඩි පෙළක් නගින්න තියෙනව කියල. ඒ පඩි පෙළ ළඟට ගිහින් ඉදිරිය බලල, බුදු අම්මෝ මට නම් බෑ මේ පඩි පෙළේ නගින්න කියල හිතන්නෙ නැතිව, බොහොම අමාරුවෙන් සැරයටියක ආධාරයෙන් හෝ අත්වැටක ආධාරයෙන් හෝ නිවාඩු පාඩුවේ එක පඩියක් නගින්න. ටික වෙලාවක් ඉඳල නැවත එක පඩියක් නගින්න. තව ටික වෙලාවක් ඉඳල තවත් එකක් නගින්න. ඔය විදිහට පඩි 5 ක් ඉහලට නැගල ගමනාන්තයට පඩි 5 කින් ළං වෙලා තියෙන බව හිතන්න. නැවත පසුපස බලන්න. පඩි 5 ක් පහුකරගෙන ඉහලට ඉදිරියට ගිහින් තියෙන බව හිතන්න. පහුකරගෙන ආපු පඩි 5 ගැන හිතල සතුටු වෙන්න. යම් චිත්ත ප්‍රසාදයක් ඇති කරගන්න. ඉදිරියට යා යුතු පඩි 35 ගැන හිතල අසහනයට පීඩාවට පත් වෙන්න එපා. ඒ වගේ තමයි මේ කර්මස්ථානයත්. බණ අහල දහම් අවබෝධයක් ඇති කරගැනීම තුලින් යම් අත්හැරීමක් නොඇල්මක් මිදීමක් වුනා නම්, ඒ ගැන තමයි නිතර නිතර සිහි කරන්න ඕන. මේ විදිහට කියල අබේරත්න උපාසක මහත්තය මේ කර්මස්ථානය පිළිබඳවත් විශේෂ පැහැදිලි කිරීමක් එදා සිද්ධ කළා.

18. අවංකයි

    පිරිසිදුයි

    පවිත්‍රයි

    ප්‍රභාස්වරයි

19. අවංකයි

    පිරිසිදුයි

    පිවිතුරුයි

    පබසරයි

20. අවංක වෙමි - පිරිසිදු වෙමි

    පිවිතුරු වෙමි - පබසර වෙමි

    සංසිඳුවමි - සංසිඳුවමි

    සංසිඳුවමි - සංසිඳුවමි

අර්ථය : කායික වැරදි යම් තරමකින් නැත්ද, ඒ තරමට අවංකයි. වාචසික වැරදි යම් තරමකින් නැත්ද, ඒ තරමට පිරිසිදුයි. මානසික වැරදි යම් තරමකින් නැත්ද, ඒ තරමට පිවිතුරුයි. ලෝකයේ නැවත බිහි කිරීමට යම් තරමකින් බලාපොරොත්තු නැත්ද, ඒ තරමට පබසරයි. "සං" කියන අවිද්‍යා තෘෂ්ණා එකතුව සිඳ දමමි.

තවත් අර්ථයක් : අවංක වුන තරමින් අවංකයි. පිරිසිදු වුන තරමින් පිරිසිදුයි. පිවිතුරු වුන තරමින් පිවිතුරුයි. පබසර වුන තරමින් පබසරයි. ඉදිරියේදිත් අවංක වීමට බලාපොරොත්තු වෙමි. පිරිසිදු වීමට බලාපොරොත්තු වෙමි. පිවිතුරු වීමට බලාපොරොත්තු වෙමි. ලෝකයේ සැරිසැරීමට බලාපොරොත්තු නොවෙමි.

21. සම්මා සම්බුදු සරණයි

    ඉතිපි - සෝ භගවා

    අරහං... භගවාති

    මමද සියලු ලෝක

    සියලු සත්ත්වයෝ

    අවංක වෙත්වා

    පිරිසිදු වෙත්වා

    පිවිතුරු වෙත්වා

    පබසර වෙත්වා

    නිදුක් වෙත්වා

    නිරෝගී වෙත්වා

    සුවපත් වෙත්වා

    දුකෙන් මිදෙත්වා

    නිබ්බාන පරම සුඛයෙන්

    සුඛිත තර වෙත්වා

"නිබ්බාන පරම සුඛයෙන් සුඛිත තර වෙත්වා" කියන කොටස වෙනුවට "නිබ්බාන පරම සුඛයෙන් සුවපත් වෙත්වා" කියන කොටස යොදාගෙන, එහෙම නැත්නම් "නිවන් සුවයෙන් සුවපත් වෙත්වා" කියන කොටස යොදාගෙන තවත් කර්මස්ථානයක් විදිහටත් වඩන්න පුළුවන්.

22. මමද සියලු ලෝක

    සියලු සත්ත්වයෝ

    අවංක වෙත්වා

    පිරිසිදු වෙත්වා

    පිවිතුරු වෙත්වා

    පබසර වෙත්වා

    රාගක්ඛයෝ වෙත්වා

    ද්වේශක්ඛයෝ වෙත්වා

    මෝහක්ඛයෝ වෙත්වා

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# නිවන් මගේ පැටළුනු තැන්

**o6 කොටස**

ප්‍රසුගිය කාලයේ පළ කරන ලද එක්තරා පොත් පෙළක, අද ගුණවතුන්ටත් සෝවාන් ඵලය ලැබීම අති දුෂ්කර දෙයක් බවත්, ලෞකික ප්‍රථම ධ්‍යානයවත් ලබන්නෙ නැතිව සෝවාන් ඵලය ගැන සිතීම මුළාවක් බවත් පෙන්වමින් ඒ සඳහා තර්ක විතර්ක ඉදිරිපත් කරල තිබුනා.

මේ කාරණය ගැන උපමාවක් අරගෙන මේ විදිහට කල්පනා කරනකොට නුවණ තියෙන අයට කරුණු වැටහෙන්න ඕන. මහල් 7 කින් යුක්ත ගොඩනැගිල්ලක් තියෙනව කියල හිතන්න. මේ ගොඩනැගිල්ල ගැන තොරතුරු දන්නෙ නැති කෙනෙක් ඈතක ඉඳගෙන ගොඩනැගිල්ල දිහා බලනවා. ඒකෙ උස ගැනත් හිතනවා. උඩට යන මගකුත් ඔහුට පේන්නෙ නෑ. අහසට උස ඉනිමගක් නැතිව මේකට කොහොම නගින්නද කියල ඔහුට මුළා කල්පනාවක් පහල වෙනවා. ඔහුගේ අදහස තමයි, කවදහරි ඉනිමගක් බැඳගෙනම යන කෙනෙක් මෙහි යා යුතු බව. ඔහු ඒක ඉතා දුෂ්කර කටයුත්තක් විදිහට කල්පනා කරනවා.

ඉදිරි දිනක ඒ ගොඩනැගිල්ල අසළින් දොඹකරයක් එන බව ඔහුට අහන්න ලැබෙනවා. ඔහු එතකල් ඉවසගෙන දොඹකරය ආවම ඒ මාර්ගයෙන් උඩ තට්ටුවට නගින්න හිතාගෙන ඉන්නවා. නමුත් පිට පෙනුමට දුර්වලව පෙනෙන කෙනෙක් ගොඩනැගිල්ලේ පහත මාලයට ඇතුල් වෙනවා. ඔහු ඒකෙ ඉහලම තට්ටුවට යන්න සකස් කරල තියෙන විදුලි සෝපානයක් දකිනවා. ඒකට ඇතුල් වෙලා විදුලි බොත්තමක් ක්‍රියාත්මක කළාම නිරායාසයෙන්ම ඇදිල ගිහින් ඉහලම තට්ටුවේ නවතිනවා. දැන් ඔහු එළියට ඇවිත් අර දොඹකරය එනකල් බලාගෙන ඉන්න මනුස්සයට මේ ගැන විස්තර කරනවා. ඒත් ඔහුට ඒ ගැන නැගෙන්නෙ උපහාසාත්මක හිනාවක්. මේ කියන කතාව මෝඩයෙක්ගෙ මුළාවක් බවත් නිගමනය කරනවා. පළවෙනි තට්ටුවට නගින්නවත් ඉනිමගක් බැඳගන්න හෝ දිග ලීයක් හොයාගන්න හෝ බැරි මේ කාලෙ හත්වෙනි තට්ටුවට කොහොම නම් නගින්නද කියල ඔහු ප්‍රලාප දොඩවනවා. නමුත් යමෙක් ඔහුව කැඳවාගෙන ගිහින් පහතම තට්ටුවේ තියෙන විදුලි සෝපානය පෙන්නුව නම්, ඔහු තමන්ගෙ මෝඩකම තේරුම් අරගෙන නිරායාසයෙන්ම උඩ තට්ටුවට යනවා. තමන් කරපු කියපු දේවල්වල මෝඩකමේ තරම එතකොට ඔහුට අවබෝධ වෙනවා.

සෝවාන් ඵලයට පත් වීම අතිදුර්ලභ බැරෑරුම් කටයුත්තක් බව ඇත්ත. නමුත් එහෙම වෙන්නෙ තනියෙන්ම සෝවාන් වෙන්න භාවනා කරන අයට. තුන් ලෝකාග්‍ර වූ බුදු රජාණන් වහන්සේ මහා ලෝක ධාතුව කම්පා කරවමින්, කෙල ලක්‍ෂයක් සක්වල පැතිරිලා තියෙන බුද්ධ ආඥා චක්‍රය විද්‍යමාන කරල, උතුම් මාර්ග ඵල ලාභීත්වයෙන් සම්බන්ධය ඇති කරමින්, පරතෝඝෝෂක ප්‍රත්‍ය පරපුර පහල කරල දුන්නා. ඒ පරපුරෙන් පරතෝඝෝෂක ප්‍රත්‍යය ලබන කල් මේ අග්‍ර ඵල ලැබීමේ මහා වාසනාව හේතු තියෙන පින්වතුන්ට උදා වෙනවා. එහෙම නොවෙන්න, ලෞකික වූ පංච අභිඥා, අෂ්ට සමාපත්ති ලැබුවත්, පොත පත මගින් පටිච්ච සමුප්පාද ධර්ම විස්තර දැනගෙන හිටියත්, සෝවාන් ඵලය ලැබීම නම් කිසි කලෙකත් සිද්ධ වෙන්නෙ නෑ. ආර්ය පුද්ගල ලාභය යම් අධිගම අන්තර්දානයක් දක්වා පවතිනවද, මාර්ග ඵල ලැබීමේ වාසනාව ඒ ආර්ය පුද්ගල ඇසුරෙන් ලබපු පරතෝඝෝෂක දහම් ඇසීමෙන්ම සිද්ධ වෙනවා.

පෘතජ්ජන පුද්ගලයාට අසීමිත බලාපොරොත්තු තියෙනකොට, ඒ බලාපොරොත්තු කෙරෙහි යොමු වෙච්ච අවධානයක්, සෙවීමේ හිතක් තියෙන නිසා නොසන්සුන් බවකුත්, බලාපොරොත්තු සියල්ල ඉටු නොවීම ස්වභාවයක් නිසා නිතර පසුතැවීමකුත් තියෙනවා. තමන් ආසා කරන අරමුණක් හමු වුනාමත් ඒක උපාදාන කරනකල්, තමන් වසඟයට සම්බන්ධ කරගන්න කල් මහා නොසන්සුන් බවකුත්, ආසා කරන දෙයක් ලැබෙන්න ඇවිත් නොලැබුනොත් මහා පසුතැවිල්ලකුත් ඇතිවෙනවා. යම් විදිහකින් ලැබුන නම් මහා වටිනා දෙයක් ලැබුන විදිහට උදම් වෙමින් ඒ පිළිබඳව වර්ණනා කරමින් ආස්වාදයක් විඳිනවා. ඔහු වෙහෙසන්නෙ ලාභය, කීර්තිය, ප්‍රසංසාව ලබන්න. ඒ වගේම මහත් තදින් ආස්වාදයේ බැඳෙමින් ඇලී ගැලී වාසය කරනවා. කාමච්ඡන්දය වැඩෙනවා. කැඩීම බිඳීම වැනසීම ස්වභාවයක් බව දැනුනත් ඒකෙන් ඇතිවෙන්නෙ කලකිරීමක් නෙවෙයි. එහෙම නොවී රැකගන්න කරන මහත් උත්සාහයක්. කැඩෙයිද, බිඳෙයිද, වැනසිලා යයිද කියන සැකය මහත් සේ නැගෙනවා. ඒ පිළිබඳව වැරදි ආකල්පයන්ට බැහැගන්නවා. බොහෝ දෙනා පිළිබඳව අස්ථාන සැක ඇති කරගන්නවා.

කෙබඳු විදිහකින් හරි උරුමය පරිදි කැඩිල බිඳිල ගියාද මහත් සංවේගයට පත් වෙනවා. සෝක කරනවා. අඬනවා. වැළපෙනවා. කම්පා වෙනවා. ජීවිතය පවා වනස ගන්න තරම් දාහය බලවත් වෙනවා. මහත් දාහ ගිනි විඳිනවා. කවුරුහරි කඩල බිඳල වනසල දානවද, ගැටෙනවා. ඒවා රැකගන්න අනෙකාව වනසනවා. හිංසා පීඩා කරනවා. පළිගන්න හිතනවා. පළිගන්නවා. ආසාව බලවත් වෙනවද, ලබාගන්න

අයුතුකම් අසාධාරණකම් කරනවා. ගුණධර්ම පිළිබඳව දහම් මග, සත්‍ය දහම් මග තමන්ගෙ ඇලීම් බැඳීම් සහිත වැඩවලට ගහන හෙණ පහරක් වගේ ඔහුට දැනෙනවා. ගුණධර්මවලදි සහ සත්‍ය දහම් මග ඉදිරියේ ඇකිලිලා යනවා. ඔහුට ඒ දහම් අරමුණුවලින් ආස්වාද නොපිහිටන නිසා, උත්සාහයකින් හෝ උපක්‍රමිකව හෝ දහම් මගේ යොදවන්න යම් පින්වතෙක් උත්සාහ කළොත්, ඔහුගේ හිත ඒ උතුම් අරමුණෙන් ඇකිලිලා ගිහින් නිදි ගන්නවා. කැදර කපුටාට ඉඳුල් ප්‍රිය වගේ කාම වස්තු පිළිබඳවම හොයනවා. ඒ සඳහාම යොමු වෙලා ඉන්නවා. කොච්චර ලැබුනත් ඒවායින් රාග ගිනිම ඇවිල ගන්නවා. කාම පිපාසයම වැඩෙනවා. පෘතජ්ජන කාම ගති ස්වභාවයේ බලවත් ස්වභාවයක් තමයි මේ.

මේ ස්වභාවය සමහරෙකුට අධිකයි. සමහරෙකුට අඩුයි. සසර පුරුදු කරපු ආස්වාදයන් අනුව එහෙම වෙනවා. **පාප වූ කාමයේ ඇලිල ගැලිල නීච පව්කම් කරල කාලාන්තරයක් තිරිසන් අපායේ දුක් විඳල මිනිස් වෙලා උපන්න නම් ඔහු බොහෝ විට මිනිස් තිරිසනෙක් වගේ වෙනවා. යක්ෂ වෙලා ඉපදිලා සසර සැරිසරල මිනිස් වුනා නම් මිනිස් යක්ෂයෙක්. මිනිස් වුනත් යක්ෂ ගති පෙන්නුම් කරනවා. මේ ගති ස්වභාවය අදත් සමාජයේ ඕන තරම් දකින්න පුළුවන්. මේවා සසර ගති අනුව ආස්වාදය විඳල ලබපු පුරුදු. පුරුදු කියන්නෙ තමන්ගෙ නාම ගෝත්‍ර රැහැනට පිරිද්දුනු පුරුක්. පුරුද්දා ගත්ත දේ නිසාම මේවාට පුරුද්ද කියන නමත් භාවිතා වෙනවා.**

තව කෙනෙක් දේව ගති ඇසුරු කරනවා. ලැජ්ජා වෙන, බය වෙන ගතිය පාපය කෙරෙහි ඇති කරනවා. සත්තු මරන්නෙ නෑ. හිංසා කරන්නෙ නෑ. හොර මැර වංචා, සුරා සූදු දුරාචාර කරන්නෙ නෑ. බොරු කේළම් පරුස වචන ප්‍රලාප කියන්නෙ නෑ. ලෝභකම් කරන්නෙ නෑ. ද්වේශකම් කරන්නෙ නෑ. කර්ම ඵල අදහමින්, වැරදියි කියල සම්මත ලෝ සිරිත් අත්හැරල හොඳයි කියල සම්මත පින් දහම් කරනවා. මේ නිසා ඔහුගේ භව ගතිය පුණ්‍ය වෙනවා. පින ඔහුට සුඛාස්වාද දනවනවා. ඔහුගේ සිත ඒ කෙරෙහි තණ්හා උපාදාන හෙවත් ඇලීම් බැඳීම් සහිත වෙනවා. ගුණධර්ම අගය කරනවා. පිනට අනුව කාම වස්තු පහල වුනත්, සත්‍ය බුද්ධ වචනයට අනුව කාමාදීනව, ලෝකාදීනව බලල පුරුදු නොකළ කෙනෙක් නම් කාමාස්වාදය වටිනා වස්තුවක් විදිහට සළකනවා.

වටිනා කතාවක් පෙළ දහම් පොතක මේ විදිහට සඳහන් වෙනවා. එක අවස්ථාවක සක්‍ර දෙවියෝ බුදු රජාණන් වහන්සේ හමුවෙන්න පැමිණියා. උන්වහන්සේ කාමයන්ගේ ආදීනවත් මිදීමේ ආනිසංසත් දක්වල ධර්ම දේශනාවක් කළා. උන්වහන්සේගෙන් සමුගත්ත සක්‍ර දෙවියෝ තව්තිසා භවනට ගියා. ඒ කාලෙ සුර අසුර යුද්ධයක් තිබිල එයින් ජය ලබපු සක්‍ර දෙවියෝ විජයොත්පහය කියන දිව්‍ය මාලිගාවක් මැව්වා. ඒක දියමන්තිමය ප්‍රාසාදයක්. සූර්යා වගේ අවට තේජස් විහිදෙනවා. කාම වස්තුවල ඇලිල බැඳිල හිටපු සක්‍ර දෙවියන්ට මේ ප්‍රාසාදය මහත් සේ සිත් ගත්තා. නිතර ඒ ගැනම වර්ණනා කරනවා. තමන්ගෙ ජය ගැන උද්දාමයම හිතට නැගෙනවා.

මුගලන් මහ රහතන් වහන්සේට සක්‍ර දෙවියො ගැන හිතක් පරානුකම්පාවෙන්ම පහල වුනා. ඒ අනුව සක්‍ර දෙවියෝ බුද්ධ අවවාද සිහි කරනවද කියල බැලුවා. කාමයන්ගේ වසඟයට පත් වෙච්ච සක්‍ර දෙවියන්ට ඒ දහම් අමතකයි. හිත කාම වස්තුවලට බර වෙලා. උන්වහන්සේ තමන්ගෙ සෘද්ධි බලයෙන් තව්තිසා දෙව්ලොවට වැඩම කරල සක්‍ර දෙවියන් හමුවට වැඩියා. උන්වහන්සේව ගෞරවයෙන් පිළිගත්ත සක්‍ර දෙවියෝ තමන්ගෙ කාම සම්පත්තිය ගැනම වර්ණනා කරන්න වුනා.

ඒක අහගෙන හිටපු මුගලන් හාමුදුරුවො, එදා බුදු රජාණන් වහන්සේ කරපු දේශනාව කියන්න කියල සක්‍ර දෙවියන්ට කියා සිටියා. ඔහුට ඒ කිසිවක් මතක නෑ. විජයොත්පහයේ වර්ණනාවම නැවත කියන්න පටන් ගත්තා. මුගලන් හාමුදුරුවන්ට ඒක පෙන්වන්න ආරාධනාත් කළා. උන්වන්සේත් ඒ ආරාධනාව පිළිඅරගෙන විජයොත්පහය බලන්න ගිහින් සක්‍රයාගේ මහත් වර්ණනාවෙන් පසු ආපසු වඩින්න සූදානම් වුනා. සක්‍ර දෙවියෝ තමන්ගෙ මාලිගාවෙ ශක්තිමත් බව උන්වහන්සේට වැටහුනාද කියල උද්දාමයෙන් ඇහුවා. කාමයට බැඳීමෙන් තිබුන මානය බිඳින්න හිතපු උන්වහන්සේ, ශක්තිය උරගා බලමුයි කියල තමන්ගෙ පයේ ඇඟිල්ලක් ප්‍රාසාද කොනක සට්ටනය කරල කම්පා වෙන්න අදිටන් කළා. මුළු ප්‍රාසාදයම මහා කම්පනයකින් හෙළවෙන්න පටන් ගත්තා. දෙව්වරු ඇතුළු දෙවඟනන් පැනල ඈතට දිව්වා. මේක දැකල පුදුමයට පත් වෙච්ච සක්‍ර දෙවියන්ට මහා ලැජ්ජාවක් ඇති වුනා. ඒ කෙරෙහි තිබිච්ච මානය දුරු වුනා. මුගලන් මහ රහතන් වහන්සේ සක්‍ර දෙවියන්ගෙන්, දැන් බුදු රජාණන් වහන්සේ දේශනා කරපු දහම් මතක් කරල කියන්න කියල ඉල්ලා සිටියා. එතකොට සක්‍ර දෙවියො මුල පටන් අගටම දේශනාව මතකයට නගාගෙන ප්‍රකාශ කළා.

මේ තමයි පුණ්‍ය මහිමයෙන් කාම සම්පත් ලබන අයට වීතරාගී දහම් නොපිහිටන හැටි. සම්පත්වල ඇලිල බැඳිල ඉන්නකොට දහම් වැටහෙන්නෙ නෑ. රිසි වෙන්නෙ නෑ. හිත කාම භෝගයේ විසිරිලා. නිතර පහල වෙන්නෙ කාම සිතිවිලි. සංසිඳීමක් නෑ.

තව කෙනෙක්, කාමයෝ ආදීනව සහිතයි කියල ලෞකික නුවණින් දැකල, ඒවායින් වෙන් වෙන්න, කාම සම්පත් ඇහැට පේන්නෙ නැති, ඒ පිළිබඳව කනට ඇහෙන්නෙ නැති මහ කැලෑවලට වැදිල අල පලා ගෙඩි මල් අනුභව කරමින් හුදෙකලාව ගත කරනවා. දුසිරිත් අත්හැරල සුචරිතව, කාම මෛථුන ධර්මවලින් වෙන් වෙලා වාසය කරනවා. ක්‍රමයෙන් කාම ගති යටපත් කරල පංච නීවරණ යටපත් වුනාට පස්සෙ කසිණ භාවනා, ආස්වාස ප්‍රස්වාස වායුව වගේ අරමුණුවල හිත පිහිටවල දැහැන් ලබනවා. දැහැන් සුවයේ ඇලෙනවා, බැඳෙනවා. මහත් සැනසීමක් ලැබුව විදිහට සළකනවා. මැණිකක් රකින නාගයෙක් වගේ, සෙමර මුවා වලිගය රකිනවා වගේ, කිරිලිය බිත්තර රකිනවා වගේ, එකැස් ඇත්තෙක් ඒ ඇස රකිනවා වගේ, තමන් දැහැන් මගින් ලබපු සැනසුම් නිමිත්ත රකිමින් මහත් සොම්නසක් විඳිනවා. වටිනා සැනසීමක් ලැබුව වගේ සළකනවා. ඒ තමයි ඔහුගේ ඇලීම හෙවත් තණ්හාව, බැඳීම හෙවත් උපාදානය. ඒ භව ගතිය ශක්තිය පහල කරල ඔහුව රූපාවචර බ්‍රහ්ම බවට ගෙනියනවා. බ්‍රහ්ම බවට හේතු පහල කරනවා. ඔහුට ඒක මහත් ආස්වාදයක්. සිතිවිලි ඒ ආස්වාදයම අල්ලගෙන පැතිරෙනවා. ඒ රූප රාගය අත්හරින්න විරාග නිශ්‍රිත දහම ඔහුගේ හිතට අල්ලන්නෙ නෑ. විරාග නිශ්‍රිත දහමේ හැකිලිලා යනවා. නිවනේ පිහිටන්නෙ නැතිව යනවා. ඔහුට සැනසීම තමයි රූපාවචර පැවැත්ම.

මේකත් හොඳ උපමාවක්. මහා බ්‍රහ්මයා මෙහෙම හිතනවා. ලෝකය මැව්වෙ මමයි. සත්ත්වයා

මැව්වෙත් මමයි. ලෝකයේ ඉන්නෙ මගේ දරුවො. දරු පෙමින් මම ඔවුන්ට සළකනවා. යහපත් කොට මගේ වසඟයේ තියනවා. මට වඩා නුවණ තියෙන කිසිවෙක් මගේ දරුවන් අතර නෑ. ලෝකය හැඳුන හැටිත් මම දන්නවා. මට නොපෙනී ඉන්න තැනක් කිසිවෙකුටත් නෑ.

මහා බ්‍රහ්මයාගේ මේ චිත්ත පරිවිතර්කය දැකපු බුදු රජාණන් වහන්සේ, සුදුසු වේසයෙන් බ්‍රහ්මයා හමුවෙන්න ඍද්ධියෙන් වැඩියා. දුර වඩින බුදු රජාණන් වහන්සේ බ්‍රහ්ම වෙස් අරගෙන වැඩිය නිසා හඳුනගන්න බැරි වෙච්ච මහා බ්‍රහ්මයා, පුතා එන්න, පුතා මා වෙත එන්න, මාගේ පුත්‍රයා විදිහට මම පිළිගනිමියි කියල තමන්ගෙ මූලික බවත් කියා සිටියා.

බුදු රජාණන් වහන්සේ, තමන් වහන්සේ ලොවට අග්‍ර බවත්, බ්‍රහ්ම විෂය ඉක්මවා ඇති බවත් දේශනා කළත් ඒක පිළිගන්නෙ නැතිව, එහෙනම් මගේ උපත කියන්න කියල ඉල්ලා සිටියා. උන්වහන්සේ බ්‍රහ්මයා එතෙක් කරපු කියපු දේත්, බ්‍රහ්ම උපතට පෙර මිනිස්ව හිටපු කාලයේ කරපු පිනත් දේශනා කර වදාළා. ඒ වගේම උන්වහන්සේට මහා බ්‍රහ්මයා තවත් අභියෝගයක් කළා, පුළුවන් නම් මට නොපෙනී හැංගෙන්න කියල. බුදු රජාණන් වහන්සේ පළමුව මහා බ්‍රහ්මයාට හැංගෙන්න කියල කිව්ව නිසා සක්වලේ කොනින් කොන මහා බ්‍රහ්මයා හැංගුනා. බුදු රජාණන් වහන්සේ මහා බ්‍රහ්මයාගේ සිතිවිලි පහල වෙනකොටම ඒ සිතිවිල්ලත්, හැංගෙන්න හදන ආකාරයත්, ඉන්න තැනත්... ආදී සියල්ල සියලු බ්‍රහ්මයන්ට ඇහෙන්න දේශනා කළා. ඒ වගේම හැංගෙන තැන් අනෙක් බ්‍රහ්මයන්ට පේන්නත් සැලැස්සුවා.

ඊළඟට බුදු රජාණන් වහන්සේගේ වාරය ආවා. උන්වහන්සේ කිසි තැනක නොවැඩ එතැනම අතුරුදන් වෙනවා, දේශනා කරනවා. හඬ ඇහෙනවා, රුව පේන්නෙ නෑ. උඩු කය පෙන්වනවා, යට කය අතුරුදන් කරනවා. මහා බ්‍රහ්මයාට උඩු කය පේනවා, යට කය පේන්නෙ නෑ. මේ විදිහට ප්‍රාතිහාර්ය දැකපු මහා බ්‍රහ්මයා සියලු කරුණු සත්‍යයි කියල පිළිඅරගෙන, මගේ පිරිසට ඒ බව හඟවන්නෙ නැතිව ඔබවහන්සේ ආපසු වඩින්න කියල ඉල්ලා සිටියා. ඒ වගේම සමහර බ්‍රහ්ම පිරිසේ කෙනෙක්, ඔබ වහන්සේ දහම් නොදෙසා පිරිනිවන් පාන සේක්වා, අපේ වසඟය අපි පවත්වමුයි කියල කියා සිටියා. මේ කතාවත් පෙළ දහම් පොත්වල තියෙන එකක්.

මෙබඳු ලෝක ආස්වාද මුළාවකට සත්ත්වයා ඇද දමන්නෙ මේ තණ්හා උපාදාන මුළාව. ආර්ය නුවණ තියෙන බුද්ධ ශ්‍රාවකයා මේ මුළාවට පත් කරන කාමච්ඡන්ද මගක හෝ කාම රාග මගක හෝ රූප රාග මගක හෝ අරූප රාග මගක හෝ ඇලිල බැඳිල වාසය කරන බලාපොරොත්තු කිසිවිටෙකත් හොයන්නෙ නෑ. තණ්හා උපාදාන කරන්නෙ නෑ. අස්වගුණ්ඩ දැහැන් කරන්නෙ නෑ. කාම රාග මුළාව දැනගෙන, රූප රාග මුළාව දැනගෙන, අරූප රාග මුළාව දැනගෙන, කැලෑව වෙනස් වුනත් කොටියගෙ පුල්ලි මැකෙන්නෙ නෑ කිව්ව වගේ, තණ්හා උපාදාන හැම තිස්සෙම අවිද්‍යාව සමග බැඳිල තියෙන බව දැනගෙන ඒ මුළා මග පිළිවෙතට බහින්නෙ නෑ. යම් නාම රූපයක් නිසා කාමච්ඡන්දයේ බැඳෙනවද, කාම රාගයේ බැඳෙනවද, රූප රාගයේ ඇලීම් බැඳීම් වෙනවද, ඒ නාම රූප මේ මේ ඒවයි කියල ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති වශයෙන් වෙන් වෙන්ව හඳුන ගන්නවා. නාම රූප නිරෝධයක් හා ඊට මගක් වෙනවද, ඒක හඳුන ගන්නවා. මේ විදිහට ලබන නාම රූප පරිච්ඡේද ඥානයක් ආර්ය වුවන්ටත් ආර්ය මග යන අයටත් සුදුසු පරිදි ලැබෙනවා.

යමක් හේතුවකින්ම පහල වෙන බවත්, පහල වුනොත් ඒක ඒකාන්තයෙන්ම අනිච්ච, දුක්ඛ, අනත්ත බවත් දැනගෙන අත්හරිනවා. අත්හරිනකොට නොඇලෙනවා. නොඇලෙන කොට මිදෙනවා. මිදුනම පරම සත්‍ය වූ විරාග නිශ්‍රිත නිරෝධ නිශ්‍රිත සත්‍යය මගින් ලබපු අවබෝධය නිසා වූ ප්‍රත්‍යක්‍ෂයෙන් බවත් අනුසය මුල් සිඳිල තියෙන බවත් දැනගන්නවා.

මේ විදිහට කාම, රූප, අරූප කියන තුන් භවයේම නිසරුව වැටහෙන කොට සියලු ලෝ තලයේ තියෙන හැම දෙයක් කෙරෙහිම අවිද්‍යාව නිසා, වැරදි වැටහීම නිසා තිබ්බ්ච මහත් වටිනාකම් පෙනෙන අවිද්‍යා සිත අඩු වෙලා යනවා. මේ විදිහට අඩු වෙවී ගිහින් යම් අවස්ථාවක පරතෝඝෝෂක ප්‍රත්‍යය ලබපු අවස්ථාවක, යම් බලාපොරොත්තු කොටසක් කිසි විටෙකත් මතු පහල නොවෙන විදිහට අත්හැරී නොඇලී මිදී ගිහින්, හේතු නිරෝධයෙන් ඵල නිරෝධය දකිමින්, පහල වෙච්ච මාර්ග ඵලයේ පිහිටනවා. අසීමිත පැතීම් බලාපොරොත්තු සුන් වෙනවා.

නැවත ඉතිරි කෙළෙස් පිළිබඳවත් මේ විදිහටම මෙනෙහි කරනවා. පෙර සේම තුන් භවයේම සියල්ල කෙරෙහි වටිනා බව අඩු වෙමින් නිස්සාරය වැටහෙමින් ප්‍රිය මනාප වටිනා බවේ කොටසක් අත්හැරී, නොඇලී ගිහින් හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වුන බව දකිමින් තවත් බලාපොරොත්තු කොටසක් අත්හැරිල යනවා. රැස් කරන බලාපොරොත්තු මේ අත්හැරීමට අයිති වෙනවා.

නැවතත් ඉතිරි කෙළෙස් හෙවත් ඇලීම් බැඳීම්වලත් ඒ විදිහටම වටිනාකම අඩු වෙන්න පටන් ගන්නවා. නිස්සාර බව වැටහෙනවා. නිසරු පරිහරණය පිළිබඳව ඇසුරේ දුක වැටහෙමින්, ඇලීම් බැඳීම් අත්හැරිල නොඇලී මිදී ගිහින්, හේතු නිරෝධයෙන් ඵල නිරෝධය වැටහෙමින්, තවත් බලාපොරොත්තු කොටසක් අත්හැරී නොඇලී මිදී හට නොගන්නා බවට පත්වෙනවා. විඳීමේ බලාපොරොත්තුව හට නොගන්නා බවට පත්වෙනවා.

නැවතත් පෙර සේම විරාග නිශ්‍රිතව, නිරෝධ නිශ්‍රිතව දහම් මෙනෙහි කරනකොට, ඉතිරි වෙලා තිබ්බ්ච තණ්හා ආසා කරපු දේ වටිනාකම නැති බව සහමුලින්ම දැනගෙන, නිසරුව සහමුලින්ම දැනගෙන, නිසරු පරිහරණයේ දාහය දුක දැනගෙන අත්හැරී, නොඇලී, මිදී හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වුන බව දැනගෙන බලාපොරොත්තු නැති බවට පත්වෙනවා. දැන ගැනීමේ බලාපොරොත්තු මේ විදිහට කෙළවර වෙනවා. බලාපොරොත්තු කෙළවර වුනාම නිවන් සඳහා කළ යුතු කිසිවක් තමන්ට නැති බවත්, හේතු නිරෝධ නිසා ඵල නිරෝධ බවත් දැනගන්නවා.

මේ විදිහට පළමුව සෝතාපන්නයෙක් වුනාද, ප්‍රත්‍යවේක්‍ෂා ඥාන තියේ නම් රහත් ඵලය කෙළවර කරල තියෙන මග වැටහෙනවා. ආකාරය වැටහෙනවා. සසර පැතුම් අනුව, ලැබිච්ච හැකියාවන් අනුව දේශනා කරන්නත් පුළුවන්. එබඳු ප්‍රත්‍යවේක්‍ෂා නුවණ නැත්නම් අත්හැරුනු මිදුනු බව විතරක් වැටහෙනවා.

මේ ආකාරයෙන් ඇසින් දැනගැනීමේ ඇලීමක් නැත්ද, ඒ පිළිබඳව බැඳීමක් නෑ. එතකොට ගති නෑ. පහල වීම් නෑ. භව ශක්තිය

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



14 වන කොටස

**සංයුක්ත නිකාය - 4**

සබ්බ සූත්‍රය - 31 පිටුව

සියල්ලට අයිති දේවල් පෙන්වයි. එනම් ඇස, කන, නාසය, දිව, කය, මන, රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධම්ම. මෙයින් වෙන්ව තවත් ලෝකයක් පනවන්නේ නම් එය අර්ථයෙන් හිස්වූ වචන මාත්‍රයක් පමණි. අවිෂය කරුණකි.

මිගජාල සූත්‍රය - 81 පිටුව

ඒක විහාරී හෙවත් එකලාව නම්, තණ්හාව නමැති දෙවැන්නාගෙන් වෙන්ව විසීමයි. තණ්හාව සහිතව අරණ්‍ය, රුක්මුල්, ශුන්‍යාගාරගතව තනිව සිටියත් සදුතීය (දෙවැන්නෙකු සමග) විහාරී වේ. ඒක විහාරී නොවේ. මේ ගැන විස්තර ඇත. තණ්හාව නමැති දෙවැන්නාගෙන් වෙන්වූ මහණ භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා, රජ, මැති, ඇමති, අන්තොටු සව් (අන්‍ය පරිබ්‍රාජකයන්) ආදීන් ඇසුරේ ග්‍රාම, නගර වාසීව වැඩ සිටියත් ඒක විහාරී යැයි කියනු ලැබේ.

එග්ගුණ සූත්‍රය - 119 පිටුව

නැසූ තණ්හා ප්‍රපංච ඇති, සසර වට කෙළවර කළ ඉකුත් පිරිනිවන් පෑ බුදුවරයන් වහන්සේලා යම් ඇසකින්, කනකින්, නාසයකින්, දිවකින්, කයකින්, සිතකින් පනවන්නෙක් පනවා නම් එබන්දක් නැත්තේමයි.

උද්දක සූත්‍රය - 177 පිටුව

උද්දකරාම පුත්‍ර වේදගු බවද, සියල්ල දිනූ බවද, සසර ගමන කෙළවර කළ බවද කීවත්, එසේ නොවන බව තථාගතයන් වහන්සේ පවසයි. ඒ නිසා මෙයද අවිද්‍යා දෘෂ්ටියකි (ආර්ය අර්ථයෙන් නම් මිත්‍යා දෘෂ්ටියකි). නමුත් බඹ ලොව ඉපදුනි.

උපාදාන සූත්‍රය - 189 පිටුව

ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් උපාදානීය ධර්මයි. උපාදාන නොවේ. එහි ඡන්ද රාගයම උපාදානයයි.

සගයහ සූත්‍රය - 255 පිටුව

මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ආදිය ලෝකයා සුවයි කියා සම්මත කරයි, සත්කාය ප්‍රහාණය දුක් සේ දකියි. ආර්යයෝ මන වඩන පංච කාමය දුක යැයි දකියි. මෙය ලෝකයාගේ අදහසට විරුද්ධ පැත්තය. නිවන පෘතජ්ජන ලෝකයාට සන අඳුරක් මෙනි.

කම්ම සූත්‍රය - 267 පිටුව

ඇස, කන, නාසය, දිව, කය, මන ප්‍රත්‍යයන් එක්ව කරන ලදී. චේතනාවෙන් පිළියෙල කරන ලදී. පුරාණ කර්මයකි. වේදනාවට වස්තුවකි. විස්තර ඇත.

අත්ථිනුඛෝපරියාය සූත්‍රය - 277 පිටුව

ඇදහීමෙන් තොරව, රුචියෙන් තොරව, ලබ්ධි ගැනීමෙන් තොරව, අයුරු සැළකීමෙන් තොරව කටයුතු සියල්ල කරන ලදී, බඹසර සපිරිනි, මතු අරිහත්වය සඳහා කළ යුත්තක් නැතැයි දනිමියි අරිහත් බව පළ කරයි යනු, ඇස, කන, නාසය, දිව, කය, මන යන ඉන්ද්‍රියන්ගේ රාගයක් හට නොගන්නා බව තමන්ම නුවණින් ප්‍රත්‍යක්ෂ කර පැවසීමයි. විස්තර ඇත.

---

නිපදවන සම්බන්ධය නැතිවෙලා මනෝ ධාතුව හා සම්බන්ධය නැතිවෙනවා. ඇස් ජාති නෑ. අහන බලාපොරොත්තු නෑ. ඒ සඳහා ඇලීම් බැඳීම් නෑ. අහන බවක පිහිටන්නෙ නෑ. පහල කිරීම් සඳහා මනෝ ධාතු ශක්තිය සම්බන්ධ වෙන්නෙ නෑ. කන් ජාති පහල කරන්න හේතු නෑ. ආග්‍රහණය කරන, රස බලන, ස්පර්ශ කරන, සිතිවිලි හිතන බලාපොරොත්තු නෑ. ඒ පිළිබඳව ඇලීම නෑ. බැඳීම නෑ. භව ශක්තිය හට ගැනීමට හේතු නෑ. මනෝ ධාතු හා සම්බන්ධය නෑ. ඒ නිසා නාසය, දිව, ශරීරය, මනස යන ජාති පහල වෙන්නෙ නෑ.

පෙර භවයේ බීජයෙන් පහල වෙච්ච ගහ වගේ මේ භවය යම් දවසක කෙළවර වෙනවද, ජාතිය කෙළවරයි. ඒ නිසා ඉන් ඉදිරියට ජරා, මරණ, සෝක, පරිදේව... ආදී සියලු දුක් කඳ නෑ. ප්‍රත්‍යක්ෂ වෙච්ච නිවන කොහොම වැටහෙනවද කියල දැන් තේරුම් ගන්න පුළුවන් වෙන්න ඕන. අනුමානයෙදිත් නිවන් ස්වභාවය වැටහෙනවා. ප්‍රත්‍යක්ෂයේදී අත්දැකීම් සහිතව වැටහෙනවා. ඊට පස්සෙ ආයාසයෙන් ක්‍රියාත්මක වෙලා පරෝපකාරය සුදුසු තැන ඊට අවශ්‍ය කටයුතු කරනවා. ඒ කටයුතුවලින් පස්සෙ නැවතත් ඵල සමවතට සමවැදිල ඉන්නවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**<u>සමුද්ද සූත්‍රය - 313 පිටුව</u>**

ලෝකයේ සම්මත මුහුද සහ ගොඩබිම ආර්ය විනයේ මුහුද හා ගොඩබිම නොවේ. ඇස, කන, නාසය, දිව, කය, මන ආර්ය විනයේ මුහුදයි. මේවායේ යම් ආස්වාද රසයක් ඇත්ද, ඒ රළ පහරයි, සැඩ මසුයි (මසුන්). මේවායේ ඡන්ද රාගය ඉක්ම වීමෙන් නිවනෙහි පිහිටීම ගොඩබිමයි.

**<u>කොට්ඨිත සූත්‍රය - 323 පිටුව</u>**

භාග්‍යවතුන් වහන්සේට ඇස ඇත. රූප දකිති. කන ඇත. ශබ්ද අසති. නාසය ඇත. ගන්ධ දැනෙති. දිව ඇත. රස විඳිති. කය ඇත. ස්පර්ශ ලබති. මන ඇත. සිතති. එහෙත් මේ කිසි තැනක ඡන්ද රාගය නැත. මේ පිළිබඳ විස්තර ඇත.

**<u>කිංසුකෝපම සූත්‍රය - 369 පිටුව</u>**

සෝතාපන්න බව ප්‍රකාශ කළ ආකාර කිහිපයක් ඇත.

1. යම් කලෙක ස්පර්ශ ආයතන හයෙහි සමුදය, අස්තංගමය තතු සේ දකීද දර්ශනය විසුද්ධ වේ. මෙසේද ප්‍රකාශ කරයි.
2. යම් කලෙක පංච උපාදානස්කන්ධයන්ගේ සමුදය, අස්තංගමය තතු සේ දකීද දර්ශනය විසුද්ධ වේ.
3. යම් කලෙක සතර මහා භූතයන්ගේ සමුදයත්, අස්තංගමයත් තතු සේ දකීද දර්ශනය විසුද්ධ වේ.
4. යම් කලෙක හටගත් සියල්ල නැසීම් ස්වභාවය කොට ඇතැයි තතු සේ දකීද දර්ශනය විසුද්ධ වේ.

මේ මේ ආකාරයෙන් එක් එක් කෙනා සෝතාපන්න ඵලය පැවසූ විට එක් භික්ෂූන් වහන්සේ නමක් විවිධාකාරයෙන් කී බැවින් එය පිළිනොගෙන භාග්‍යවතුන් වහන්සේගෙන් මේ ගැන විමසීය.

උන්වහන්සේ කැල ගසක් දුටු අය උපමා කර කරුණු පෙන්වීය.

කෙනෙක් කැල ගස දැවී ගිය කණුවක් මෙනැයි කීය.

කෙනෙක් කැල ගස මස් වැදැල්ලක් මෙනැයි කීය.

කෙනෙක් මහරි ගසක් මෙන් පැලුනු කරල් ඇති, ගැලවුනු පොතු ඇති සේ යැයි කීය.

කෙනෙක් කැල ගස නුග රුකක් මෙන් ඝන සෙවණ ඇත්තේ යැයි කීය.

ගස දුටු අය ඒ ඒ අවස්ථාවේ තමන් දුටු අයුරු කීම සැබෑවක්මය. එසේ ඉහත කී සියලු දෙනාට ඥාන දර්ශනය ඇතිවම කී බව තේරුම් ගත යුතුය.

**<u>දුතිය ගේලඤ්ඤ සූත්‍රය - 405 පිටුව</u>**

සම්පජානකාරී වීම හෙවත් ඒ ඒ ක්‍රියාවන් කරන විට දැනෙන විට ඒ ගැන සිහි නුවණින් යුතුව බලන අයුරු විස්තර කර ඇත.

ඒවා සංඛත බව, පටිච්ච සමුප්පන්න බව, අනිච්ච බව දකිමින් එබඳු ක්‍රියාවන් නිසා දැනෙන වේදනා ආදියද එබඳුම බව දකින විට කෙලෙස් නිවී යන බව පෙන්වා ඇත. වේදනාව ස්පර්ශය නිසා වන බවත්, අනිච්ච වූ ස්පර්ශයෙන් ඇතිවන වේදනාව කෙසේ නම් නිච්ච වේද... ආදී ලෙස බැලිය යුතු බවත් පෙන්වා ඇත.

**<u>රහෝගත සූත්‍රය - 413 පිටුව</u>**

සැප වේදනා, දුක් වේදනා, උපේක්ෂා වේදනා යන තුනම දුක ලෙස පෙන්වූයේ සංඛාරයන්ගේ අනිසි බව, ක්ෂය බව, වය බව, විරාග බව, නිරෝධ බව, විපරිනාම බව පෙන්වීම සඳහාය.

ප්‍රථම ධ්‍යාන සමාපත්තියට පත් වූ විට වචන නිරෝධ වේ.

ද්විතීය ධ්‍යාන සමාපත්තියට පත් වූ විට විතර්ක විචාර නිරෝධ වේ.

තෘතීය ධ්‍යාන සමාපත්තියට පත් වූ විට ප්‍රීතිය නිරෝධ වේ.

චතුර්ථ ධ්‍යාන සමාපත්තියට පත් වූ විට ආස්වාස ප්‍රාස්වාස නිරෝධ වේ.

ආකාසානඤ්ඤායතන සමාපත්තියට පත් වූ විට රූප සඤ්ඤා නිරෝධ වේ.

විඤ්ඤාණඤ්චායතන සමාපත්තියට පත් වූ විට ආකාසානඤ්ඤායතන සංඥා නිරෝධ වේ.

ආකිඤ්චඤ්ඤායතන සමාපත්තියට පත් වූ විට විඤ්ඤාණඤ්චායතන සඤ්ඤා නිරෝධ වේ.

නේවසඤ්ඤානාසඤ්ඤායතන සමා -පත්තියට පත් වූ විට ආකිඤ්ච-ඤ්ඤායතන සංඥා නිරෝධ වේ.

සඤ්ඤා වේදයිත නිරෝධ සමාපත්තියට පත් වූ විට වේදනා සඤ්ඤා නිරෝධ වේ.

අරිහත්වයේදී රාග, ද්වේශ, මෝහ නිරෝධ වේ.

**<u>මෝලිය සීවක සූත්‍රය - 437 පිටුව</u>**

පෙර කරන ලද කර්මයෙන් සියලු වේදනාවෝ උපදී යන අන්කොටු පැවිද්දන්ගේ මතය වැරදි බවත්, වාත - පිත්ත ආදී මෙලොව හේතූන්ගෙන්ද වන බවත්, එක්තරා කොටසක් පෙර කළ කර්ම අනුව වන බවත් පෙන්වා ඇත.

**<u>අට්ඨසත පරියාය සූත්‍රය - 439 පිටුව</u>**

වේදනා 108 ගැන විස්තර ඇත.

**<u>නිරාමිස සූත්‍රය - 445 පිටුව</u>**

ප්‍රීති, සුඛ ආදියේදී ආමිස නිරාමිස මෙන්ම නිරාමිස තර වශයෙන් යෙදෙන අයුරු පෙන්වා ඇත.

**<u>ධම්මවාදී සූත්‍රය - 477 පිටුව</u>**

රාග, ද්වේශ, මෝහ ප්‍රහාණයට පිළිපන් අය සුපටිපන්නයෝ බවත්, සහමුලින් ක්ෂය කළ අරිහතුන් වහන්සේලා සුගතයෝ බවත් පෙන්වා ඇත.

**<u>දුක්කර සූත්‍රය - 487 පිටුව</u>**

ධර්මානුධර්ම පිළිවෙතේ හැසිරෙන භික්ෂුවට අරිහත්වය නොබෝ කලකින් ලැබෙන බව පෙන්වයි.

**<u>සංයෝජන සූත්‍රය - 521 පිටුව</u>**

ඇස සහ රූපය සංයෝජන නොවන බවත්, ඒ කෙරෙහි බැඳුනු ඡන්ද රාගයම සංයෝජන බවත් පෙන්වා ඇත.

**<u>මහක සූත්‍රය - 533 පිටුව</u>**

මච්චිකා සන්ඩය නම් ප්‍රදේශයේදී චිත්ත ගහපතිට මහක තෙරුන් පෑ ප්‍රාතිහාර්යන් ගැන සඳහන් වේ.

**<u>දුතිය කාමභූ සූත්‍රය - 537 පිටුව</u>**

සංඛාර සහ නිරෝධය ගැන විස්තර ඇත. නිරෝධ සමාපත්තිය සහ මළමිනියේ වෙනස පෙන්වයි.

**<u>අචේල සූත්‍රය - 549 පිටුව</u>**

අචේලකස්සප නම් අන්‍ය පරිබ්‍රාජකයාට ධ්‍යාන මග ඵල පිළිබඳව චිත්තගහපති කළ ප්‍රකාශය සඳහන් වේ.

**<u>ගිලාන සූත්‍රය - 553 පිටුව</u>**

තම්පි අනිච්චං තම්පි අද්ධුවං යන වචන ඇත. චිත්ත ගහපතිගේ මරණාසන්න කල විස්තරයක්.

**<u>තාලපුට සූත්‍රය - 559 පිටුව</u>**

නළුවාගේ රංගන පාපයක් වන හැටි විස්තර කර ඇත.

**<u>අසිබන්ධක සූත්‍රය - 567 පිටුව</u>**

බමුණෝ දියට බැසීමෙන්, ගිනි දෙවියන් පිදීමෙන්, යාඥාවෙන් මියගිය අය සුගතියට යන බව කීවත්, එය බොරු වන හැටිත් සුගතිගත වන නියම මගත් පෙන්වයි.

**<u>ඛෙත්තූපම සූත්‍රය - 571 පිටුව</u>**

සියලු සතුන් කෙරෙහි හිතානුකම්පා ඇති බුදු පියාණන් වහන්සේ, සැමට සමානව දහම් නොදෙසීමට හේතුව

# නොපළ වූ ගුණ කඳ XI



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරතනාලංකාරය - 82**

## ලෝකයාට හෙළි නොවූ තවත් විස්මිත ප්‍රතිකර්ම

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිහි වතක සිටියදී සිදු කරනු ලැබූ විස්මිත ප්‍රතිකර්ම රැසක් මේ සඟරාවෙ මීට පෙරත් වරින්වර පළ කරල තියෙනවා. උන්වහන්සේ ගිහි කාලයේ පටන් ළඟින් ඇසුරු කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් ඒ සම්බන්ධයෙන් ලැබූ අත්දැකීම් සමග හෙළි කළ තවත් සැඟවුනු පැතිකඩක් පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. ඒ විග්‍රහයේ ඉතිරි කොටස තමයි මේ.

ලෝක සත්ත්වයාට පැහැදිලි පිරිසිදු නිවැරදි දහම් මාර්ගය ලබා දීමේ බලාපොරොත්තුවෙන් අබේරත්න උපාසක මහත්තය සිද්ධ කළ මහා සේවාවන් අතර ප්‍රධාන තැනක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට හිමි වෙනවා. බොහෝ දෙනා අප්‍රමාණ සතුටකින් සහ උනන්දුවකින් තමයි ඒ කාලෙ ඒ සෙත් බුද්ධ පූජාවලට සහසම්බන්ධ වුනේ. ඒකට හේතුව තමයි මීට පෙරත් සඳහන් කළා වගේ, ඒ සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වීම තුළින් බොහෝ දෙනාට ඇස් පනාපිටම පේන්න දකින්න විශිෂ්ඨ ප්‍රතිඵල ලැබීම. සමහර අවස්ථාවල සෙත් බුද්ධ පූජා පවත්වනකොට ඇතැම් අයට දීර්ඝ කාලයක් තිස්සේ තිබ්බ්ච අමනුස්ස දෝස, හීනෙන් බය වෙලා කෑකෝ ගැසීම්, රාත්‍රියේ නින්ද නොයෑම... ආදිය දුරු වුනා. ආවාහ විවාහ කටයුතු ප්‍රමාද වෙලා තිබුන අයට ඒවා ඉෂ්ඨ සිද්ධ වුනා. දරු සම්පත් නැතිව වසර ගණන් දුකින් ඉඳල සෑහෙන මිල මුදල් විය පැහැදම් කරල, යම් යම් ශාන්ති කර්ම සහ වෛද්‍ය ප්‍රතිකාරවලින් ප්‍රතිඵල නොලැබුන කාන්තාවන්ට, ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා පඬුරු ගැට ගැසීම තුලින් දරු සම්පත් ලැබුනා. රැකියා නැති අයට රැකියා ලැබුනා. ඉඩකඩම්වල ගෙවල් දොරවල් ඉදි කිරීම් ආරම්භ කරල අවුරුදු 7, 8, 10 තරම් දීර්ඝ කාලයක් ගියත් ඒ වැඩ කටයුතු අවසන් නොවෙච්ච තැන්වල ඒ කටයුතු ඉක්මනින් අවසන් වුනා.

මේ ආදී වශයෙන් තමන් සෑහෙන කාලයක් තිස්සේ පීඩාවට පත් කළ අප්‍රමාණ ප්‍රශ්න විසඳගන්න අවස්ථාව ලැබුන නිසාත්, අත්දැකීම් තිබ්බ්ච අය බහුලව හිටපු නිසාත්, බොහෝ දෙනා ඉතාමත් සතුටින් උද්‍යෝගයෙන් තමයි ඒ කාලෙ මේ පූජාවලට සම්බන්ධ වුනේ.

ආශිර්වාද සෙත් බුද්ධ පූජාව තියන්න පෙර අබේරත්න උපාසක මහත්තය ඒ ඇවිත් ඉන්න පින්වත් පිරිසට මේ විදිහට උපදෙස් දෙනවා. කුඩා දරුවන් ඉන්න මව්වරු තම තමන්ගෙ

❯

---

පෙන්වයි. කුඹුරු 3 ක් හා දිය බඳුන් 3 ක් උපමා කර ඇත.

<u>සංඛධම සූත්‍රය - 575 පිටුව</u>

දස අකුසල් හැඳින ඉන් වෙන්ව මෙත් සිත පතුරුවන අරිසච් හට කාමාවචර කර්ම ඉතිරි නොවන බවත්, නොපිහිටන බවත් පෙන්වා ඇත.

<u>රාසිය සූත්‍රය - 595 පිටුව</u>

නොදැහැමිව භෝග සොයන අයට සැමතින්ම ගැරහීම සුදුසු නොවන බවත්, ඒ තුලින් තමා සැපවත් වීම, පින් කිරීම පැසසිය යුතු බවත් පෙන්වා ඇත. එසේම නොදැහැමිව භෝග සොයා, තමා සැපවත් නොවී, අනුන්ටද නොදීම සැමතින්ම ගැරහිය යුතු බවත් පෙන්වා ඇත. විස්තර ඇත.

<u>පාටලිය සූත්‍රය - 611 පිටුව</u>

පව් කරන සියල්ලෝම මෙලොවම දුක් විපාක විඳී යන්න වැරදි බව පෙන්වයි. ධර්ම සමාධිය ලබන අයුරුද පෙන්වා ඇත.

<u>කායගතා සති සූත්‍රය - 635 පිටුව</u>

රාග, ද්වේශ, මෝහ බය වීම අසංඛතයයි, නිවනයි.

<u>සවිතක්ක සවිචාර සූත්‍රය - 635 පිටුව</u>

සවිතක්ක - සවිචාර සමාධිය - අවිතක්ක විචාර මාත්‍ර සමාධිය - අවිතක්ක අවිචාර සමාධිය යන මේවා නිවන් මග ලෙස පෙන්වා ඇත.

<u>අසංඛත හා විපස්සනා සූත්‍රය - 641 පිටුව</u>

සමථයත් නිවන් මගකි. විපස්සනාවත් නිවන් මගකි.

<u>කුතුහලසාලා සූත්‍රය - 701 පිටුව</u>

උඩ යන ගිනි රොටුවට සුළඟ උපාදානය වන බවත්, මේ කය අතහැර වෙන කයකට නොගිය සත්ත්වයාට තණ්හාව උපාදානය වන බවත් පෙන්වා ඇත.

<u>අත්ථත්ත සූත්‍රය - 705 පිටුව</u>

ආත්මය ඇතැයි කීවොත් සාස්වතවාදී මහණ බමුණන්ගේ ලබ්ධිය වන බැවින් යථාර්ථවත්ව තෝරා ගන්න බැරි බැවින් එසේ නොදෙසීය. ආත්මය නැතැයි කීවොත් උච්ඡේදවාදී මහණ බමුණන්ගේ අදහස ගන්නා බැවින් එසේ නොදෙසීය.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නිතිශ්‍ර චන්දන සිරිවර්ධන**

දරුවන් තම තමන් විසින්ම නිහඬව ළග තබා ගන්න ඕන. අඬන, බාධා කරන, කලබල කරන කුඩා දරුවන් ඉන්න අය ඒ දරුවන් සමග ඈතට ගිහින් මේ බුද්ධ පූජාව පවත්වන හඬ ඇහෙන සීමාවෙ ඉඳගෙන ඒ දරුවන් සමග තම තමනුත් මේ බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න ඕන. හැම වෙලාවෙම සාසනික කටයුතුවලට සම්බන්ධ වෙන අය සෙසු පින්වතුන්ට බාධා නොවෙන ආකාරයෙන් කටයුතු කරන්න ඕන. **කුඩා දරුවන් කියල භේදයක් නෑ, යම් විදිහකින් සාසනික කටයුතු කරන අවස්ථාවල බාධා ඇති කළොත්, හේතු සම්පත් තියෙන අයට දහම් අවබෝධ කරගන්න ඒක බාධාවක් වුනොත්, තම තමන්ටත් මහා විසාල බාධාවක් වගේම විසාල හානියක් කරගත්ත වෙනවා.** ඒ නිසා මේ පූජාවට සහභාගි වෙන අනෙක් පිරිසට බාධා නොවෙන ආකාරයෙන් තම තමන් කටයුතු කරන්න ඕන. ඒ වගේම මේ බුද්ධ පූජාව අවසන් කරල විශේෂයෙන් සෙත් කරන වෙලාවට, කුඩා දරුවන් සමග ඈතින් ඉන්න දෙමව්පියන් වගේම මේ අවස්ථාවට සම්බන්ධ වෙන සියලු දෙනාම මේ බුද්ධ පූජාව පවත්වන ධර්ම සාලාව ආසන්නයටම එන්න කියල දැනුම් දීමක් කරනවා...

මේ ආදී වශයෙන් කියල තමයි මහත්තය ආශිර්වාද සෙත් බුද්ධ පූජාව ආරම්භ කරන්නෙ. දීර්ඝ වෙලාවක් ඉතා මිහිරි හඬින් සමවතින් නැගෙන පටිභාන කාව්‍යමය බුද්ධ පූජාවක් පවත්වල, ඊට පස්සෙ නූල් නව පොටක් එකට එකතු කරල විශේෂයෙන් සකස් කරපු සෙත් නූලක් සියලු දෙනාටම අල්ල ගන්න දෙනවා. ඒ වෙලාවට ශබ්ද විකාශන යන්ත්‍රයෙන්ම කියනවා, දැන් ඔය ඈත ඉන්න අය තම තමන්ගෙ කුඩා දරුවන් ඇඬුවට දැඟලුවට කමක් නෑ, ඔය සියලු දෙනාම මේ ධර්ම සාලාව ළඟට ඇවිත් මේ සෙත් නූල අල්ල ගන්න කියල. එහෙම කියල විනාඩි කිහිපයක පුංචි විවේක කාලයක් ලබා දෙනවා. ඒ වෙලාවෙදි ඉන්න සියලු දෙනාම ඇවිත් ඒ සෙත් නූල අල්ල ගන්නවා. ඊට පස්සෙ තමයි විශේෂ ආශිර්වාදාත්මක සෙත් කිරීම සිද්ධ කරන්නෙ.

අතීතයේ වැඩ හිටපු බුදු පියාණන් වහන්සේලාගෙන් ලබාගත්ත ශ්‍රාවක විවරණ ආදිය සිහිපත් කරමින්, සෙත් පැන් යොදාගෙන රෝගීන් සුවපත් කරන්න කාශ්‍යප බුදු පියාණන් වහන්සේගෙන් ලබා ගත්ත විශේෂ ආශිර්වාදාත්මක විවරණ සිහිපත් කරමින්, බුදු පියාණන් වහන්සේලාගේ අනන්ත පාරමිතා ශක්තීන් සිහිපත් කරමින්, අධි වේගයෙන් පැයක් එකහමාරක් විතර දීර්ඝ කාලයක් අරගෙන තමයි ඒ සමාධිමය මහා සෙත් කිරීම සිද්ධ කරන්නෙ.

සාමාන්‍යයෙන් ඒ වෙලාව තුල මනුස්සයෙක්ගෙ හිසේ තියෙන හිසකෙස් ගහේ පටන් පාදාන්තයේ තියෙන නියපොතු දක්වාම කොටස් ගැන කියමින් එකින් එක විශේෂ සමාධිමය ක්‍රමවේදයකට අනුව සෙත් කිරීමක් කරල දොස් ඉවත් කරන්න අධිෂ්ඨාන කරනවා. ඒ අවස්ථාවේ බොහෝ දෙනෙකුට තියෙන අමනුස්ස දෝස ආදියත්, විවිධ කායික සහ මානසික රෝගත් සුව වෙන අවස්ථා ඕන තරම් තියෙනවා. සමහර අයට සෙත් නූල අතට දෙනවත් එක්කම ඒක අතින් අල්ලගෙන ඉන්න බැරි තරමට දඟලන කෑකෝ ගහන අවස්ථා පවා තියෙනවා. මොකද ඒ තියෙන අමනුස්ස බලවේග ආදිය ඇවිස්සිලා ගැලවිලා යන නිසා. කොහොම වුනත් අබේරත්න උපාසක මහත්තය කියල තියෙන්නෙ, මොන තරම් සද්ද බද්ද කළත්, දැගලුවත්, ළමයි ඇඬුවත්, කොච්චර දඟ කළත්, ඒ සෙත් කරන වෙලාවට කිසිම කෙනෙක් සෙත් නූල අල්ල ගන්නෙ නැතිව ඉන්න එපා, මේ සීමාවෙ ඉන්නව නම් නොවරදවාම සෙත් නූල අල්ලගෙන සෙත් කරල අවසන් වෙනකල්ම ඉන්න ඕන කියල. කිසිම හේතුවක් නිසා අතරමග නතර කරල නැගිටල යන්න එපා, එහෙම ගිහින් මොනව හරි වුනොත් ඒ සඳහා මම වග කියන්නෙ නෑ කියලත් කියනවා. ඒ නිසා ළමයි මොන තරම් සද්ද බද්ද කළත්, ඇඬුවත්, සියලු දෙනාම ඒ වෙලාවෙ ඒ සෙත් නූල අල්ලගෙන අමාරුවෙන් අපහසුවෙන් හරි ඉන්නවා.

ඉතින් ඔය වගේ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවලට අපිත් නිතරම වගේ සම්බන්ධ වෙනවා. ඒ කාලෙ අපිත් එතුමන් හමුවෙන්න ගිය අලුත නිසා වටපිටාව පිළිබඳවත්, කරන කියන කටයුතු පිළිබඳවත් හොඳ සෝදිසියෙන් තමයි හිටියෙ. දවසක් ඔය වගේ සෙත් බුද්ධ පූජාවක් කරල අවසානයේ ආශිර්වාදාත්මකව සෙත් කරන වෙලාවෙ අම්ම කෙනෙක් වයස අවුරුදු 2 - 3 ක විතර කුඩා දරුවෙක්ව වඩාගෙන හිටියා. ඒ වෙලාවෙ සෙත් නූල ඒ අම්මගෙ සහ දරුවගෙ ඇඟට දානවත් එක්කම මේ දරුව මහ හයියෙන් අඬන්න පටන් ගත්තා. බේරෙන්න බැරි තරමටම දඟල දඟල අඬ අඬා කියන්නෙම, අම්මෙ ගෙදර යං අම්මෙ ගෙදර යං කියල විතරයි. දැන් ඉතින් ළමය අඬන එක නතර කරන්නෙත් නෑ. ළඟ හිටිය අපිටත් හරිම කරදරයක් වුනා. මොනව කරන්නද අපිත් ඉතින් ඒකත් එක්කම සෙත් කරන එකත් අහගෙන ඉන්නවා. ඊටත් වඩා හයියෙන් මේ ළමය ඉකි ගගහ අඬනව ඇහෙනවා.

ඔය විදිහට විනාඩි 15 - 20 ක් විතර අඬ අඬා ඉඳල එක පාරටම මේ දරුව කියනවා, මම දිනුවා කියල. නැවතත් මහ හයියෙන් අඬනවා. ඔය විදිහට අවස්ථා කිහිපයකදිම බොහොම හෙමින් මම දිනුවා කියනවා. නැවතත් මහ හයියෙන් අඬනවා. මේ විදිහට සෑහෙන වෙලාවක් අඬ අඬා හිටියා. ඒ අඬන හැමවෙලාවෙම කියන්නෙත් අම්මෙ ගෙදර යං කියන එක විතරමයි. බොහොම කලාතුරකින් තමයි මම දිනුව කියල කියන්නෙ. ඉතින් ඔය විදිහට සෑහෙන වෙලාවක් අඬ අඬා ඉඳල, මම දිනුව කියල හිනා වෙලා නැවතත් අඬ අඬා ඉඳල අන්තිමට ඒ සියල්ල නතර වුනා. ඒ අම්මත් ඒ අවස්ථාවෙ මේ දරුවගෙ ක්‍රියා කලාපය නිසා හරිම අපහසුතාවයකට පත් වුනා. අකමැත්තෙන් වුනත් ඒ අම්මත් සෙත් කරන වෙලාව අවසන් වෙනකල්ම එතන හිටියා. මොකද දරුව අරගෙන පැත්තකට යන්නත් බෑ. ඒ වෙලාවෙ අනිවාර්යයෙන්ම සියලු දෙනාම සෙත් කරන නූල අල්ලගෙන ඉන්නත් ඕන. මේ වෙලාවෙ හුග දෙනෙක් දන්නෙ ඒ දරුව හයියෙන් ඇඬුවා කියන්න විතරයි. භික්ෂූන් වහන්සේලා කිහිප නමක් විතරයි මේ සිද්ධිය ගැන හරියටම දැක්කෙ. ඔහොම ඉඳල සෙත් කරල අවසන් වුනාට පස්සෙ මේ දරුව බොහොම හොඳට සෙල්ලම් කර කර හිටියා. අපි දරුව ළඟට ගිහින් කතා කළා, ඇයි බබා ඇඬුවෙ කියල. එතකොට ඒ අම්ම තරමක් තරහෙන් වගේ කිව්වා, අනේ ස්වාමීන් වහන්ස මේ ළමය හරිම දඟයි බේරන්න බෑ කියල. අපි ඉතින් නැවතත් මේ කුඩා දරුවගෙන් ඇහුවා, පුතා මේ අම්ම කියන්නෙ ඇත්තද, පුතා දඟයිද කියල. එතකොට මේ දරුව එකපාරටම කිව්වා, නැහැ අම්ම තමයි දඟ කියල.

අපි ඉතින් සෙත් පූජාව අවසන් කරල එදත් ධර්ම සාකච්ඡා කරන වෙලාවෙ අබේරත්න උපාසක මහත්තයගෙන් මේ දරුවගෙ හැසිරීම ගැන ඇහුවා. එතුමා ඒ වෙලාවෙ ඒ කාරණය ගැන මේ විදිහට පැහැදිලි කළා.

මම හැමෝටම සෙත් නූල අල්ල ගන්න දීල තමයි ආශිර්වාද කරන්නෙ, සෙත් කරන්නෙ. ඒ



ඖෂධ සෙත් කරන අවස්ථාවක්

වෙලාවෙදි බොහෝ දෙනෙක්ගෙ ශරීර ඇතුලෙ බැඳිල රැඳිල ඉන්න අමනුස්ස බලවේග, ඥාති ප්‍රේත දෝස, අනවින බන්ධන, හදිහූනියම්... ආදිය වගේම ඉනා බන්ධන ආදියත් කැඩිල බිඳිල සුද්ධ වෙනවා. ඒවාට අරක්ගෙන ඉන්න අමනුස්ස ආදී පිරිස් පින් පෙත් අනුමෝදන් වෙලා දහස් ගණන් ලක්‍ෂ කෝටි ගණන්වලින් තමයි නිදහස් වෙන්නෙ. නමුත් ඉතින් ඔය වගේ දේවල් අද සමාජයේ සමහර අයට කියන්නත් බෑ. සමහරු ඒවා සමච්චලයට ලක් කරනවා. සමහරු ඒවා නිතර නිතර කිය කියා විවේචනය කරනවා. මම ඔය විදිහට විවේචනය කරන, අමනුස්ස දෝස ආදිය නෑ  ඕවා බොරු කියල කියන අය ගැන සමාධියෙන් යොමු කරල බලපු අවස්ථාත් තියෙනවා. එතකොට මම දැකල තියෙනවා, එහෙම කියන්නෙත් අමනුස්සයෙක්මයි, ඒක එහෙම වෙනව කියල ඒ පුද්ගලය දන්නෙත් නෑ. මම ඉතින් ඒ වෙලාවට ඔවුන්ට තමන් කරපු පින්කමක් මතක් කරල දීල, ඒ අයට සියල්ලෙන් සියල්ල ලැබිල සුඛිත මුදිත වෙත්වා කියල අධිෂ්ඨාන කළාම, ඒ ඥාති ප්‍රේත ආදී කොටස් පින් අනුමෝදන් වෙලා බලන් ඉඳෙත්දිම නිදහස් වෙලා යනවා. ඊට පස්සෙ හරි අගේට ඒවා පිළිගන්නවා. පිස්සන් කොටුවෙ ඉන්න පිස්සො කියන්නෙ අනික් අයට පිස්සු කියල. පිස්සො තමන්ට පිස්සු තියෙනව කියල දන්නෙත් නෑ. කිව්වට පිළිගන්නෙත් නෑ. මේ තර්ක වාද කරන අයත් ඒ වගේ තමයි කියල මහත්තය ඒ ගැන මේ විදිහට අත්දැකීම් එක්ක තවත් විස්තර කළා.

පොඩි ළමයි කියල භේදයක් නෑ. හැමෝටම ඔහොම තමයි. ඥාති බලවේග, අමනුස්ස දෝස... ආදිය තියෙන අය ඉන්නවා. මේ වගේ විශේෂ බුද්ධ පූජාවන් සිද්ධ කරන අවස්ථාවල ඥාති ප්‍රේත අමනුස්ස ආදී අප්‍රමාණ නොපෙනෙන කොටස් පින් අනුමෝදන් වෙලා ඒ ඒ අත්බැව්වලින් නිදහස් වෙලා සුගති අත්බැව් කරා යනවා. සමහර අමනුස්ස ආදී කොටස් පින් අනුමෝදන් වෙලා තම තමන්ගෙ ඥාති මිත්‍රාදීන් දාල යන්න කැමති නෑ. ඒ අය කිහිප වතාවක්ම මේ වගේ බුද්ධ පූජාවන් පවත්වන අවස්ථාවලට සහභාගි වෙන්න ඕන. එතකොට ඒ අය අතරත් ටිකෙන් ටික දහම් පැත්ත තේරුම් අරගෙන දහම් අවබෝධ කරගෙන සුගතිය කරා යන අය ඉන්නවා. එහෙම නැතිව ඒ අය හැමෝටම එකපාරටම දහම් තේරුම් අරගෙන නිදහස් වෙන්න බෑ. මනුස්ස ලෝකෙ ඉන්න මිනිස්සුන්ට වගේ තමයි සියලු දෙනාටම බණ කියල තේරුම් කරල දෙන්න බෑ.

**මනුස්ස ලෝකෙ සමහර අය ඉන්නවා, අපි ධර්ම සාකච්ඡා කරනකොට ඒවා වැරදියි, ධර්මය විකෘති කරනවා, බුදු දහම නැති කරනවා කියල කියනවා. ඒ අතර අපිත් එක්ක වාද කරල අපිව පරද්දල යන්න එන අයත් ඉන්නවා. මුලින් එන්නෙ ඒ අදහසින් වුනත්, ඇවිත් ටික වෙලාවක් ධර්ම සාකච්ඡාව අහගෙන ඉන්නකොට, පළවෙනි වතාවෙ දෙවෙනි වතාවෙ ඇවිත් ධර්ම සාකච්ඡා කරනකොට, ඒ අය අනික් අයටත් වඩා පැහැදිලා උදව් උපකාර කරන අය බවට පත් වෙනවා. අපේ වැරදි අඩුපාඩු හොයන්න එන අය සැළකිල්ලෙන්  ඕනකමින් මොනවද අපි කියන්නෙ කියල අහගෙන ඉන්නවා. ඒ නිසා අනික් අයටත් වඩා හොඳට දහම් අවබෝධ කරගන්න අයත් ඔය අතර ඉන්නවා.**

ඒ වගේ තමයි අමනුස්ස ලෝකවලත් එක පාරටම දහම් අවබෝධ කරගන්න බැරි අය  ඕන තරම් ඉන්නවා. ඒ අය එහෙම ඉන්න නිසා තමයි අපි කියන්නෙ, විශේෂ සෙත් බුද්ධ පූජා කිහිපයකට සහභාගි වෙන්න, අපි කියන ඒවායේ හොඳ නරක එක පාරටම තෝරන්න බාර ගන්න යන්නෙ නැතිව හොඳින් අහගෙන ඉඳල තම තමනුත් නැණ නුවණින් විමසල බලල කටයුතු කරන්න කියල. අර කුඩා දරුවටත් හිටපු අමනුස්ස පිරිස මුලින්ම දරුවා අත්හැරල යන්න අකමැති වෙලා තමයි හිටියෙ. පස්සෙ ටිකෙන් ටික දහම් තේරුම් අරගෙන අනුමෝදන් වෙලා, හිටපු තැන්වලින් නිදහස් වෙලා ගියා. අමනුස්ස ලෝකවල අය අතරත් මුලින් අපි කරන කටයුතුවලට අකමැති අය ඉන්නවා. පස්සෙ අපෙන් ඒ අයට කරදරයක් බාධකයක් නැති බවත් දකිනවා. ඒ විතරක් නෙවෙයි, ඒ ලෝකවල අයටත් ලැබෙන අසීමිත යහපත නිසා ඒ ඒ අත්බැව්වලින් නිදහස් වෙලා යනවා. ඒ වගේ අවස්ථාවක් තමයි අද සිද්ධ වුනෙත් කියල අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක කිව්වා.

ඉතින් මේ විදිහට එදත් ඉතා දීර්ඝ වශයෙන් මේ පිළිබඳව දහම් සාකච්ඡා කළා. එහෙම කරපු සාකච්ඡාවල ඉතා සීමිත කොටසක් තමයි මම මේ කිව්වෙ. වර්තමාන යුගයේ සිද්ධ වෙන සමහර සිදුවීම් දිහා බලනකොට තමයි එදා සාකච්ඡාවල අසීමිත වටිනාකම දැනෙන්නෙ. සමාධි ප්‍රතිකාර, කර්ම විපාක, කර්ම විපාක ගෙවා හරින ක්‍රමවේද, පෙර අත්බැව්වල අතීත සිදුවීම් සහ අනෙකුත් දේවල් පිළිබඳව හිතනකොට, එදා අබේරත්න උපාසක මහත්තය පවත්වපු සාකච්ඡා ආදී සියල්ලක්ම අනාගතය පිළිබඳ දිවැස් සමාධියකින් දැකල කරපු දේශනා සහ සාකච්ඡා කියල තමයි අපිට නම් හිතෙන්නෙ.

වහරක අභයරතනාලංකාර හාමුදුරුවො උපාසක මහත්තයෙක් විදිහට ඉන්න කාලෙ විවිධාකාර ක්‍රමවලින් රෝගීන් සුවපත් කරපු හැටි බොහෝ දෙනෙක් දන්න කාරණයක්. ඒ නිසාම තමයි එතුමන් වටා ඉතා විසාල පින්වත් පිරිසක් ඒකරාශි වෙලා හිටියෙ. ඇත්තටම අදටත් අප්‍රමාණ දුකින් වේදනාවෙන් ඒ ගැන කතා කරන අය  ඕන තරම් ඉන්නවා.

අබේරත්න උපාසක මහත්තය පැවිදි වෙන්න ආසන්නව නිතර නිතර කිව්වා, පැවිදි වුනාට පස්සෙ නම් බෙහෙත් හේත් ප්‍රතිකාර කරන්නෙ නෑ, ඒක භික්ෂූන් වහන්සේලාට ගැලපෙන්නෙ නෑ කියල. එහෙම කියනකොට අපි දැනගත්තා, දැන් නම් ඉතින් මහත්තය මහණ වෙන්න ඉතාම ආසන්නයි කියල. ඒ බව එතුමන් නොකියා කියපු අවස්ථාත් තිබුනා. අපිත් ඉතින් මහත්තය හමු වෙච්ච දවසෙ ඉඳලම විවිධ උපක්‍රම භාවිතා කරමින් වැඩි පිරිසක් එතුමන් ළඟට යැව්වා. බෙහෙත් හේත් ප්‍රතිකාර ගැනීම සඳහාත්, දහම් මාර්ගය ලබා දීම සඳහාත් තමයි අපි එහෙම කළේ.

ඔය කාලෙ රටේ විවිධ පළාත්වලින් බෙහෙත් හේත් ප්‍රතිකාර ගන්න ආපු අය හිටියා. දවසක් ඈත දුර බැහැර පළාතක ඉඳන් රෝගී කාන්තාවක් ඇවිත් හිටියා. ඇය රජයේ බැංකු ආයතනයක නිලධාරිනියක් විදිහට සේවය කරන කෙනෙක්. ඇය තමන්ගෙ ගෙදර බුදු මැදුරක් හදාගෙන බුද්ධ පූජා පවත්වමින්, බණ භාවනා කරන, තමන් ළඟට එන අයට බණ දහම් කියා දෙන්න කටයුතු කරන කාන්තාවක්. ඇයට ඇස් පෙනීම දුර්වල වීමේ රෝගයක් තිබුනා. නිතර නිතර විවිධ තැන්වලින් ප්‍රතිකාර ගත්තත් සුවයක් නැති නිසා, බටහිර වෛද්‍ය විද්‍යාව අනුව සැත්කමක් කරල තරමක් සුව වෙලා හිටියෙ. නමුත් කාලයක් ගියාට පස්සෙ සැත්කම කරපු ඇහෙත් පෙනීම ටිකෙන් ටික අඩු වෙලා තිබුනා. අනෙක් ඇහෙත් පෙනීම ටිකෙන් ටික අඩු වෙනකොට, ඒ ඇහැ පරීක්ෂා කිරීමෙන් අනතුරුව ඒකත් සැත්කමකට භාජනය කරන්න ඕන කියල තීරණය කරල වෛද්‍යවරු දිනයක් පවා දීල තිබුනා.

ඔය කාලයේ තමයි අබේරත්න උපාසක මහත්තය විවිධ ප්‍රතිකාර කරමින් රෝගීන් සුවපත් කරන බව දැනගෙන ප්‍රතිකාරයක් බලාපොරොත්තුවෙන් ඇවිත් හිටියෙ. සමාධි බලන වෙලාවෙ තමන්ට නියමිත අවස්ථාව ආවම මේ කාන්තාවත් තමන්ගෙ අසනීපය සඳහා ප්‍රතිකාර බලාපොරොත්තුවෙන් හිටියා. අනික් අයට වගේම මහත්තය තත්පර 8 - 10 ක් විතර නිහඬවම ඇස් පියාගෙන ඉඳල ඒ කාන්තාවගෙන් ඇහුවා, ඇස්වල අමාරුවක් තියෙනවද කියල. ඇය කිව්වා, ඔව් මගේ එක ඇහැක් පේන්නෙ යාන්තම් අනික් ඇහෙත් පෙනීම ටිකෙන් ටික අඩු වීගෙන එනව කියල. එතකොට මහත්තය කියනවා, සැත්කමට භාජනය කරපු ඇහේ වගකීම නම් මට බාර ගන්න බෑ, නමුත් ඉතින් අනික් ඇහේ පෙනීමට තියෙන බාධා නම් ඉවත් කරල පෙනීම ලබාදෙන්න පුළුවන් කියල. ඒ සඳහා මේ ස්ථානයේ සිද්ධ කරන විශේෂ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න, පිරිසිදුව 7 වතාවක් පෙරා ගත්ත පිරිසිදු පැන් බෝතලයක් ගෙනත් සෙත් පූජාවට තියල ආශිර්වාද කරවගෙන ගෙනිහින් උදේ හවස මුහුණ හෝදන්න, මේ විදිහට සෙත් පූජා කිහිපයකට සම්බන්ධ වෙන්න කියල කිව්වා. අද සෙත් පැන් හදාගෙන යන්න පැන් ගෙනාවෙ නැති නිසා මෙහේ තියෙන පැන්වලින් බෝතලයක් ඉල්ලගෙන ඒ සෙත් පැන්වලින් දැන් මුහුණ හෝදන්න, ඉතිරි සෙත් පැන් ටික ගෙදර ගෙනිහින් උදේ හවස මුහුණ හෝදන්න, ඇහේ පෙනීම ලැබේවි, බෙහෙත් ප්‍රතිකාර මුකුත් අවශ්‍ය වෙන්නෙ නෑ, ලබන සතියෙ සෙත් පූජාවට ඇවිත් සහභාගි වෙන්න කියලත් කිව්වා. එහෙම කියල ළඟ හිටපු කෙනෙකුට කතා කරල, මේ උපාසිකා නෝනට මෙහේ තියෙන සෙත් පැන් බෝතලයක් දෙන්න කිව්වා. ඇය එදා සෙත් පූජාවට සම්බන්ධ වෙලා හිටපු නිසා සෙත් පැන් ලබා දුන්නා. මේ කාන්තාව ඒ ස්ථානයේදිම සෙත් පැන්වලින් මුහුණ හෝදගත්ත විතරයි විනාඩි කිහිපයකින් පස්සෙ වටපිට බලල කියනවා, මගේ ඇහේ පෙනීම වැඩි වුනා වගේ කියල. තවත් විනාඩි 5 - 10 ක් විතර ඉඳල කිව්වා, මගේ ඇහේ පෙනීම දැනටමත් ගොඩක් වැඩි වුනා කියල. ඊට පස්සෙ දුවල ගිහින් ඉතිරි සෙත් පැන් බෝතලය එක්ක බෑගය තවත් ටිකක් උස් තැනකින් ගිහින් තිව්වා, පහතින් තියන්න හොඳ නෑ කියල.

කොහොම හරි ඒ කාන්තාවටත් සෙත් පූජාවට සම්බන්ධ වුන පළවෙනි දවසෙම සෙත් පැන්වලින් මුහුණ හේදුවා විතරයි, රෝගී ඇහේ පෙනීම සම්පූර්ණයෙන්ම ලැබුනා. බොහොම සතුටින් තමයි ඇය එදා තමන්ගෙ ගමට ගියේ. ඊට පස්සෙ සතියක්ම සෙත් පැන්වලින් උදේ හවස මුහුණ හෝදල ඊළඟට සෙත් බුද්ධ පූජාව තියෙන දවසෙ සැත්කමට භාජනය කරපු ඇහැටත් ප්‍රතිකර්මයක් ලබා ගැනීමේ බලාපොරොත්තුවෙන් තමයි ඇය ඇවිත් හිටියෙ. කොහොම නමුත් ඇය එනකොට අබේරත්න උපාසක මහත්තය මහණ වෙන්න ගිහින්. සෙත් බුද්ධ පූජාවට ආවට පස්සෙ තමයි දන්නෙ පූජාව තියන්න කවුරුවත්ම නෑ, මහත්තය කොහේ ගිහින්ද දන්නෙත් නෑ, කිසිම වැඩසටහනක් කරන්නෙත් නෑ කියල. නමුත් ඉතින් එදා ඇවිත් හිටපු පින්වතුන් වෙනුවෙන් භික්ෂූන් වහන්සේ නමක් විසින් බුද්ධ පූජාව තිව්වා. ඒත් ඉතින් බෙහෙත් හේත් ප්‍රතිකාර, සමාධි බලන ක්‍රම... ආදී සියල්ල නතර වුනා. දැන් මේ සැත්කමට භාජනය කළ ඇහේ පෙනීම සඳහා ප්‍රතිකාර බලාපොරොත්තුවෙන් හිටපු කාන්තාව ප්‍රතිකාර නොලැබීම නිසා පොඩි ළමයෙක් වගේ අඬ අඬා තමන්ගෙ කණගාටුව ප්‍රකාශ කළා. අනේ මේ වගේ වටිනා වෙද මහත්තයෙක් අපරාදෙ මහණ වුනේ, තව ටික කාලයක් හරි හිටිය නම් මොන තරම් වටිනවද, මහණ වුනේ නැත්නම් අපිට මොන තරම් වාසනාවක්ද... ආදී වශයෙන් කිය කියා තමයි ඇඬුවෙ. කොහොමහරි සැත්කමට භාජනය කරපු ඇහේ පෙනීම නොලැබුනත් සෙත් පැන්වලින් හෝදපු ඇහේ පෙනීම නම් පළවෙනි දවසෙම ලැබුනා. දැන් නම් ඉතින් ඒ කාන්තාව ගැන තොරතුරක් හරියටම දන්නෙ නෑ. ඒ ගැන හොය හොයා බල බලා ඉඳල ඇති වැඩකුත් නෑනෙ.

ඒ වගේම මේ මෑතකදි තවත් විශේෂ සිදුවීමක් වුනා. වහරක හාමුදුරුවො වැඩ හිටිය අවසාන අවුරුදු කිහිපය තුල උන්වහන්සේ නිතර නිතර රෝගී වීම නිසා, අවශ්‍ය කරන වෛද්‍ය ප්‍රතිකාර ලබාදෙන්න කොළඹ ප්‍රදේශයේම සැදැහැවතුන්ගේ පෞද්ගලික ගෙවල් දොරවල් කිහිපයක්ම වරින්වර ලබා දීල තිබුනා. උන්වහන්සේගේ විවේකය සඳහාම වෙන් කරපු ස්ථානවල තමයි වැඩිපුර කාලයක් වැඩ හිටියෙ. ඒ අතර එක ස්ථානයක විවේකීව වැඩ ඉන්න කාලයේ වැඩි දෙනෙකුට උන්වහන්සේව මුණගැහෙන්න දැක බලාගන්න ලැබුනෙත් නෑ. ඉතාම සීමිත පිරිසක් තමයි උන්වහන්සේ ළඟ හිටියෙ. කොහොම වුනත් බොහෝ දෙනෙක් වහරක හාමුදුරුවො ගැන සෝදිසියෙන් හොයමින් බලමින් කටයුතු කළා. තවත් විසාල පිරිසක් උන්වහන්සේව දැක බලාගෙන වැඳ පුදා ගන්න බැරි වීම ගැන මහා කලකිරීමකින් හිටියා. ඔය අතර සමහරු, උන්වහන්සේ වටේ ඉන්න අයට බොරුවක් හරි කියල දුවල ගිහින් උන්වහන්සේව දැක බලාගෙන වන්දනා මාන කරලත් ආවා.

දවසක් මව්පියො දෙපළක් තමන්ගෙ දුවා දරුවන් එක්ක වහරක හාමුදුරුවො දැක බලාගෙන වැඳ පුදා ගන්න අවශ්‍ය බව කියල බොහොම අමාරුවෙන් අවසර ලබාගෙන

මුණගැහෙන්න ගියා. ඔවුන් එහෙම ගියේ අවුරුදු ගණනාවක පටන් ඒ අයට තිබිච්ච මහා අසහනකාරී ප්‍රශ්නයකට පිළිතුරු බලාපොරොත්තුවෙන්. ඒ තමයි තමන්ගෙ එකම තරුණ දියණියට එක්තරා අමනුස්සයෙක් ඇවිත් නිතර නිතර කරදර කරනවා. ඒ අමනුස්සයා උස මහත, හොඳට පෙනුම තියෙන, හිසේ තලප්පාවක් බැඳ ගත්ත කඩවසම් තරුණයෙක් විදිහට තමයි එන්නෙ. ඔහු ඇවිත් නිතර නිතර කරදර කරනවා, ඇගේ අතින් අල්ලගෙන ඇදගෙන යනවා. ඔබ මටයි අයිති, මම ඉන්න තැනට යන්න මාත් එක්ක එන්න ඕන, මම ඔබව කොහොම හරි මම ඉන්න තැනට එක්කරගෙන යනවා... ආදී වශයෙන් කියමින් තමයි මේ තරුණ දියණියට නිතර නිතර කරදර කරන්නෙ.

මේ විදිහට මේ අමනුස්සය ඇවිත් කරන කියන සියල්ල මේ තරුණ දියණියට පේනවා, ඇහෙනවා. හැබැයි මව්පියන්ට, සහෝදර සහෝදරියන්ට, ඥාති හිතමිත්‍රාදීන්ට මේ මුකුත් පේන්නෙ නෑ. ඇහෙන්නෙත් නෑ. ජීවත් වෙලා ඉන්න ඥාති පිරිස මේ තරුණ දියණියට ඇතිවෙලා තියෙන තත්ත්වය නිසා විවිධ මනෝ වෛද්‍යවරු ළඟට එක්කරගෙන ගිහින් ප්‍රතිකාර කරලත් තියෙනවා. නොයෙකුත් දේවාලවලට ගිහින් සෙත් ශාන්ති කටයුතු, යන්ත්‍ර මන්ත්‍ර කටයුතුත් කරල තියෙනවා. නමුත් ඒ කිසිම දේකින් සහනයක් ලැබිල නෑ. ජීවත් වෙලා ඉන්න සියලු දෙනාම, ඇයට තියෙන්නෙ මානසික රෝගයක් කියල හිතාගෙන විවිධ ප්‍රතිකාර කිරීමත්, විවාහ කටයුතුවලට යෝජනා ගෙන ඒමත් විතරයි කරල තිබුනෙ. ඇයට මංගල යෝජනා ආදිය ගේනකොට මේ රෝගී තත්ත්වය නිතර නිතර හැදෙනවා. මංගල යෝජනා ගැන වැඩිපුර කතාබහක් නොකර ඉන්නකොට ඒ තත්ත්වය තරමක් සුව අතට හැරෙනවා. ඔය විදිහට අවුරුදු ගණනාවක්ම තිබුන රෝගයක් තමයි ඇයට තිබුනෙ.

මොනවා කළත් සුවයක් සහනයක් නැති තැන තමයි වහරක හාමුදුරුවො ගැන ආරංචි වෙලා බොහොම උපක්‍රමශීලීව කොහොම හරි උන්වහන්සේව මුණගැහුනෙ. මේ අය වහරක හාමුදුරුවන්ව මුණගැහිල වන්දනා කළාම මේ තරුණ දියණිය එකපාරටම තමන්ට තිබුන මහා දුක් ගැනවිල්ල කිය කියා අඬන්න පටන් ගත්තා. අනේ ස්වාමීන් වහන්ස, මට මේ වගේ මහා කරදරයක් තියෙනවා,



ගිහි කල පැරණි පූජනීය ස්ථානයක සෙත් බුද්ධ පූජාවකට මුල පුරමින්

මේ විදිහෙ කෙනෙක් ඇවිත් මට කරදර කරනවා, මම මෙහේ එනකොටත් මගේ පිටිපස්සෙන්ම ආවා, ආං අර ගේට්ටුව ළඟ නතර වෙලා ඉන්නවා, මෙතනට එන්න බෑ කියල කියනවා. මෙහෙම කියල අත දික් කරල පෙන්වල තමන්ගෙ දුක් ගැනවිල්ල කියාගෙන ගියා.

මේ තරුණ දියණියගෙ පිටිපස්සෙන් මේ අමනුස්සයත් ඇවිත් තියෙනවා. මේ ළමය ස්වාමීන් වහන්සේ මුණගැහෙන්න ගියාම උන්වහන්සේ වැඩ හිටිය පුද්ගලික නිවසේ ගේට්ටුව ළඟට විතරයි අර අමනුස්සය ඇවිත් තිබුනෙ. මේ අය ගේට්ටුවෙන් ඇතුල් වුනාට අමනුස්සයට ඇතුල් වෙන්න බැරි වුනා. වහරක හාමුදුරුවන්ට මේ ළමය මේ විදිහට කියාගෙන ගිහින්, ආං අර මට කරදර කරන කෙනා ගේට්ටුව ළඟ හිටගෙන අපි දිහා බලාගෙන ඉන්නව කියල කියනකොටම වහරක හාමුදුරුවොත් ඒ දිහා බලන්න ගත්තා. ඒත් එක්කම මේ ළමය කෑ ගහල කියනවා, හරි හරි ස්වාමීන් වහන්සේටත් පේනවා, මම කිව්වට මේ කවුරුවත්ම පිළිගත්තෙ නෑ, දැන් මට හොඳයි, මම බොරුවක් කිව්ව නෙවෙයි, මම බොරුවක් කළා නෙවෙයි, මම කියපු ඒවා ඇත්ත කියල දැන් ස්වාමීන් වහන්සේත් දන්නව කියල. මොකද මෙච්චර කාලයක් මේ ගැන කිව්වට මේ සිදුවීම ඇත්තක් කියල අනික් අය දැකල තිබුනෙ නෑ. කිව්වට කවුරුවත් පිළිගත්තෙත් නෑ. දැන් ඇයට සාක්කිකාරයෙක් ඉන්න නිසා බොහොම සතුටින් තමයි කතා කළේ.

වහරක හාමුදුරුවො මේ සියල්ලම අවසන් වෙනකල් නිහඬවම අහගෙන ඉඳල කිසිම උත්තරයක් නොදී, ළඟ ඉන්න කෙනෙකුට කතා කරල අහනවා, මේ අය මොනව හරි කන බොන කෑම බීම ජාති එහෙම පූජ කරන්න ගෙනත් තියෙනවද කියල. ඒව නම් මුකුත්ම නෑ, පුද පරිස්කාර පූජාවක් විතරයි තියෙන්නෙ කිව්වම හාමුදුරුවො කියනවා, එහෙනම් මේ අයට කඩෙන්වත් මොනව හරි පූජ කරන්න ගෙනත් දෙන්න කියල. එතකොට එතන හිටපු අය දුවල ගිහින් ළඟ කඩෙන් කෙසෙල් ඇවරියක්, විස්කෝතු පැකට් එකක්, කිරි පැණි ටිකක්... ආදිය ගෙනත් දුන්නම, ඒ අය පුද පරිස්කාරත් එක්ක ඒ පූජා කළමනා සියල්ලම වහරක හාමුදුරුවන්ට පූජා කළා. ඒත් එක්කම මේ කරදර බාධා කරන ඥාතිවරයා මුල් කරගෙන සෑම සියලු දෙනාටම සියල්ලෙන් සියල්ල ලැබිල සුඛිත මුදිත වෙත්වා කියල වහරක හාමුදුරුවො අධිෂ්ඨාන කරල කියනවත් එක්කම අර තරුණ දියණිය කියනවා, දැන් මට කරදර කරන කෙනාට කෑම බීම මහ ගොඩක් ලැබෙනවා, එයා ඒවා සතුටින් කනව කියල. වහරක හාමුදුරුවො ඒ අවස්ථාවෙ බොහොම කෙටියෙන් ඒ අයට අනුමෝදනාවකුත් කරල ඒ කරදර බාධා කරන ඥාති අමනුස්සයා මුල් කරගෙන සෑම සියල්ලන්ටම සිතු පැතූ සම්පත් ලැබේවා කියල ආශිර්වාද කරනකොට ඇය කියනවා, දැන් මට කරදර කරන කෙනා ළඟ දෙපැත්තෙන් මම වගේම තවත් දෙන්නෙක් ඉන්නවා, ඒ දෙන්නා මේ අමනුස්සයගෙ අත් දෙකෙන් අල්ලගෙන හරිම සතුටෙන් ඈතට යන්න ගියා. ඒ අමනුස්සය අර තිබිච්ච කෑම බීම කාල හරිම සතුටින් ඉන්නෙ, මගේ බලාපොරොත්තුව හරි ගියා කියල.

මේ පින් අනුමෝදනාවෙන් පස්සෙ ඇය හිනා වෙවී කියනවා, මට කරදර කරපු අමනුස්සයට මම වගේම දෙන්නෙක් ලැබුන නිසා හරි සතුටින් ගියා කියල. එතකොට





# අරුත පටලවා ගත් සංහිඳියාව...

වර්තමානයේ ශ්‍රී ලාංකික අපි ජීවත් වෙන්නෙ, අවුරුදු 30 කට අධික ඉතාමත් දරුණු යුද්ධයක් අවසන් වෙලා කාලයක් ගිහින් තවමත් ඒ උණුසුම පවතින අවස්ථාවක. ගෙවී ගිය ඒ අවුරුදු 30 දී අපි මුහුණ දුන්න අපහසුතාවයන් කියල නිම කරන්න බෑ. ඒ ගැන හිතත්දිත් පුදුමාකාර බයක් සංවේගයක් ඇතිවෙනවා. ඉතින් ඒ ගැන අපේ රටේ විවිධ නායකයො වෙනත් විදිහකට කතා කරන කාලයක් තමයි මේ. ඒ කියන්නෙ සංහිඳියාව ගැන කතා කරනවා. මේ කාලයේ රටේ ප්‍රධාන මාධ්‍ය හා සමාජ මාධ්‍ය ජාලාවන් තුලත් වැඩිපුරම කතාබහට ලක්වෙන්නෙ සංහිඳියාව ගැන. හැබැයි එක එක්කෙනා ඒ ගැන කතා කරන්නෙ තමන්ගෙ දෘෂ්ටියට අනුව තමන්ට වාසි වෙන විදිහට. සංහිඳියාවේ නියම අරුත නොදැන තමන්ට හිතෙන හිතෙන විදිහට ලාභයක් කීර්තියක් ප්‍රසංසාවක් ලැබෙන ආකාරයට, එහෙම නැත්නම් දේශපාලන වශයෙන් වාසි ලබන්න හෝ මොනවහරි පටු අරමුණු මුදුන්පත් කරගන්න හෝ හිතෙන විදිහට සංහිඳියාවේ අර්ථය වෙනස් කරනවා.

මේ ලිපිය ලියන්න මූලික හේතුව වුනේ, අද අපේ රටේ ජීවත් වෙන සමහර පිරිස් ආත්ම දෘෂ්ටියෙන් තමන්ගෙ කියල හිතල කොටසක් සමග ඇලිල, තවත් කොටසක් තමන්ගෙ විරුද්ධවාදීන් කියල හිතල ඒ අය සමග ගැටිල, මතු මතුත් මහා දුක් විපාක ගෙන දෙන යුද්ධයකට පාර කපාගන්න එක නවත්වල, සියලු ලෝක සියලු සත්ත්වයන් කෙරෙහි මෙත් සිත පතුරවල, මේ රටට යහපතක් අභිවෘද්ධියක් ගෙනදෙන්න පුළුවන් සාසනික ක්‍රමවේදය පැහැදිලි කරන්න.

මේ දවස්වල සංහිඳියාව ගැන කතා කරන්න ගිහින් සමහරු බහිත්බස් වෙලා හිතෙන් කයෙන් වචනයෙන් දූෂිතව ක්‍රියා කරල මහා දුක් විපාක ගොන්නක් සඳහා හේතු හදාගන්න හැටි අපිට පේනවා. සමහරු යුද්ධය විවේචනය කරනවා. තවත් සමහරු ඒ ගැන උදම් අනනවා. තවත් සමහර පිරිසක් යුද්ධයක් නැවතත් ඇතිවෙන තැනට මං පාදනවා. තවත් සමහර පිරිසක් රට අල්ල ගන්නෙ කොහොමද කියල සැලසුම් සකස් කරනවා. සමහර මාධ්‍ය තමන්ගෙ වෙළඳ වාසි තකා මේවා නැවත නැවත උලුප්පල මිනිස්සුන්ගෙ හිත් දූෂණය කරනවා. ඉතින් මේ වගේ අවස්ථාවක මේ අගාධයෙන් සියල්ලෝම මිදෙන්න නම් ධර්මානුකූලව මොනවද කරන්න ඕන කියන කාරණය පැහැදිලි කරන්නයි මේ උත්සාහ කරන්නෙ.

මුලින්ම සංහිඳියාව කියන්නෙ මොකක්ද කියල බලමු. සං + හිඳීම, සං + සිඳීම, සං + බිඳීම, සංහිඳියාව විදිහට ගන්න පුළුවන්. සංහිඳියාව කියන එකේ ලෞකික අර්ථය ගත්තොත් ඒකෙන් කියවෙන්නෙ සාමයෙන්, සමගියෙන්, සහයෝගයෙන් ජීවත් වෙනවා කියන එක. නමුත් ලෝකෝත්තර අර්ථය ගත්තොත් ඒකෙන් කියවෙන්නෙ "සං" කියන රාග, ද්වේශ, මෝහ එකතුවෙන් අතීතයේ හදාගත්ත හේතුවල සහ දැනුත් මතුත් හදාගන්න හේතුවල ඵලය දැකල, ඒවා නිරෝධ කිරීම හෙවත් බිඳ දැමීම හෝ සිඳ දැමීම. ඒ කියන්නෙ රාගයෙන් ඇලිල, ද්වේශයෙන් ගැටිල, මෝහයෙන් මුළා වෙලා හිතන, කියන, කරන දේවල්වලින් වෙන්වීම. එහෙම කරනකොට අසමගියට හේතු නැතිවෙනවා. කොහොම වුනත්

❯

වහරක හාමුදුරුවෝ කියනවා, ඔව් මම ඔහුට ඔය දරුව වගේම දෙන්නෙක් මවල දුන්නා, ඒ නිසා තමයි ඔහු ගියේ, දැන් ඉතින් ඔහු කවදාවත්ම ආපහු එන්නෙ නෑ, ඒ නිසා ඔය දරුව බය නැතිව ඉන්න කියල. හා දැන් ඉතින් ඔය අය ආපහු යන්න, නිවාඩුපාඩු තියෙන වෙලාවට වහරක පන්සලට එහෙම ගිහින් පුළුවන් විදිහට පුද පූජාවලට සම්බන්ධ වෙලා දහම් මාර්ගය අනුගමනය කරන්න මහන්සි ගන්න, සසරෙ හැටි පේනව නේද කියල ඒ අය සනසල යැව්වා. ඒ මව්පියන් දෙපළත් තරුණ දුවත් ඇතුළු ඇවිත් හිටපු සියලු දෙනාම වහරක හාමුදුරුවන්ට වැඳල පින් දීදී යන්න ගියා. අනේ ඔබවහන්සේට බුදු බව ලැබෙන්න ඕන, අපිට මේ කරපු උදව්වට කියල, අපිත් ළඟදිම වහරක පන්සල හොයාගෙන යනව කියල තමයි ඒ අය හරිම සතුටින් එතනින් පිටත් වෙලා ගියේ.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

මිනිස්සු ජීවත් වෙන්න ඕන සමගියෙන් සමාදානයෙන් තමයි. මොකද ඒ මත තමයි ලෝකය දරා සිටින්නෙ, රඳා පවතින්නෙ. නැත්නම් මහා විනාසයක් ලෝකයට සිද්ධ වෙන්නෙ. මේ කියන හේතු නිසා පරිසරයේ තියෙන සමතුලිතතාව බිඳ වැටිල ස්වභාවික විපත් පවා ඇතිවෙනවා. මොකද අපි දූෂිතව කරන හැමදේකින්ම ලෝකයට නිකුත් කරන්නෙ අසුද්ධ ශක්තිය.

මේ දවස්වල සංහිඳියාව ඇති කරන්න හිතාගෙන කරන කියන දේවල් ගැන විමසල බැලුවොත් දැන් සිද්ධ වෙන්නෙ, වර්තමානයේ සමගියෙන් ඉන්න හේතු හදාගන්නෙත් නැතිව, මතු අනාගතයෙදි සමගියෙන් සමාදානයෙන් ඉන්න හේතු හදාගන්නෙත් නැතිව ඉන්න එක. අපි එක පිරිසකගෙ පැත්ත අරගෙන ඒ පිරිස ගැන රාගයෙන්, ආදරයෙන්, කැමැත්තෙන් බැඳිල ඊට විරුද්ධ වෙන පිරිස ගැන ද්වේශයෙන්, වෛරයෙන් ගැටෙනවා. ඉතින් ඔහොම කරත්දි මධ්‍යස්ථ තැනකට එන්න පුළුවන්ද? එහෙම කළාම යහපතක් සිද්ධ වෙයිද? ඒක තමයි අපි දැන් විමර්ශනය කරන්න ඕන.

පුංචි උදාහරණයක් අරගෙන බලමු. පාසලක ළමයි දෙන්නෙක් ගහගන්නවා. ඕක දැකල ඒ ළමයි දෙන්නව විදුහල්පතිතුමා ළඟට එක්කගෙන යනවා. විදුහල්පතිතුමා ළඟ ගුරුවරයො හතර දෙනෙක් ඉන්නවා. ඉතින් විදුහල්පතිතුමා ගුරුවරු හතර දෙනාට කියනවා, මේ ළමයි දෙන්නගෙ ප්‍රශ්නෙ විසඳල දෙන්න කියල. පළමු ගුරුවරයා ඒ ළමයි දෙන්නගෙන් අහනවා මොකක්ද සිද්ධ වුනේ කියල. ගහගත්තා කියල දැනගත්තට පස්සෙ කරන්නෙ දෙන්නටම නැවත ගහන එක.

දෙවෙනි ගුරුවරයා එනවා. ප්‍රශ්නෙ අහල, වැඩියෙන්ම ගුටි කාපු ළමයට කියනවා අනික් ළමයට ගහන්න කියල. තුන්වෙනි ගුරුවරයා එනවා. ප්‍රශ්නය ගැන විමසල අර ගහපු ළමයට කියනවා, ඔයා ගහපු හේතුව හරි, ඒ නිසා තවත් ගහන්න කියල. හතර වෙනි ගුරුවරයා එනවා. ළමයි දෙන්නට කරුණු පහදල දීල, සමගියෙන් සමාදානයෙන් ඉන්න කියල, ගහ ගැනීම නිසා සිද්ධ වෙන අයහපත පෙන්වල දෙනවා. හේතු ඵල පෙන්වල දෙනවා. ඔහොම ගහගත්තොත් තම තමන්ගෙන් පිටවෙන ද්වේශ සහගත සිතිවිලි නිසා, නැවත පළිගැනීමේ අදහස නිසා, පළිගන්න නම් මතු ඉපදෙන්න ඕන නිසා, මතු ඉපදුනොත් නැවත ගහගන්න හේතු තියෙන නිසා, ගහ ගැනීමේ ආදීනව පෙන්වල දෙනවා. ඒ වගේම පෙරත් මේ විදිහටම ගහගත්ත නිසා ඒ හේතු හැදිල තමයි අදත් මේ වගේ ගහගන්න හේතු හැදුනෙ කියන කාරණය පැහැදිලි කරල දීල, ළමයි දෙන්නව සමගියට පත් කරනවා. සමාදාන කරනවා.

දැන් ඉතින් විදුහල්පතිතුමා තීරණය කරනවා නියම විසඳුම දුන්නෙ කවුද කියල. ගුරුවරු හතර දෙනා දුන්න උත්තර පිළිබඳ මැදහත් සිතින් හොයල බැලුවම, හතරවෙනි ගුරුවරයා තමයි නියම විසඳුම දුන්නෙ කියල තේරුම් ගන්නවා. මොකද පළවෙනි, දෙවෙනි, තුන්වෙනි ගුරුවරු තුන් දෙනාම නැවතත් ඒ ප්‍රශ්නය ඇතිවෙන තැනට හේතු හදල, තමන්ගෙ බලය පාවිච්චි කරල, ගහගත්ත ළමයි දෙන්නව තාවකාලිකව මර්දනය කරපු එක, සමථයට පත් කරපු එක විතරයි කළේ. එතකොට ඔය ළමයි දෙන්න නැවතත් මුණගැහිච්ච වෙලාවක නැවතත් ගහගන්න ඉඩ තියෙනවා.

ඒ වගේම අද අපේ රටේ ඉන්න බොහොමයක් දේශපාලන නායකයින්, ආගමික නායකයින්, ආරක්ෂක නිලධාරීන්, සිවිල් සංවිධාන, මාධ්‍ය ආයතන හා සාමාන්‍ය ජනතාව වගේම විද්වතුන්, උගතුන්, බුද්ධිමතුන් කියන බොහොමයක් පිරිස් යුද්ධය ගැන බලන්නෙ, අර පළවෙනි ගුරුවරු තුන්දෙනා ප්‍රශ්නය විසඳපු විදිහට. පිරිසක් යුද්ධ කරපු එක හරියි කියනවා. ත්‍රස්තවාදීන්ට ගහපු එක හරියි කියනවා. තවත් පිරිසක් ත්‍රස්තවාදීන්ගෙ අරගලය හරි, රජයට විරුද්ධව අරගල කරපු එක හරි, ඒ අයගෙ ඉල්ලීම් හරි කියල අදහස් පළ කරනවා. ඉතින් ඔය දෙපාර්ශවයේම මතවාදවලින් වෙන්නෙ, නැවතත් මතු අනාගතයේ කවදහරි යුද්ධයකට හේතු හැදෙන එක විතරයි.

දැන් බලමු එහෙම අදහස් ප්‍රකාශ කිරීමේ බරපතලකම මොන වගේද කියල. අපි හැමෝම දන්නවා මුගලන් හාමුදුරුවො ගැන. **මුගලන් හාමුදුරුවො කියන්නෙ සෘද්ධිලාභීන් අතර බුදු පියාණන් වහන්සේට විතරක් දෙවෙනි වෙච්ච, බුදු පියාණන් වහන්සේගේ වමත් අගසව් මහ රහතන් වහන්සේ. උන්වහන්සේ පෙර අත්බැවකදි තමන්ගෙ බිරිඳගේ කීම අහල තමන්ගෙ දෙමව්පියන්ට පහර දීල වී ඇට ගානට ඇටකටු කුඩු කරල මරල දාල තියෙනවා. ඉතින් උන්වහන්සේ එදා කරපු ආනන්තරීය පාප කර්මයට අවීචි මහා නිරයේ අති විසාල කාලයක් දුක් විඳල ඒ පාප කර්මය ගෙවල, නැවත පිං දහම් කරල මාර දිව්‍ය පුත්‍රයා වෙලත් ඉපදිලා, පසුව ලොව්තුරා බුදු පියාණන් වහන්සේලා අට නමකගෙන් විතර විවරණ අරගෙන මේ ගෞතම බුද්ධ සාසනයේ අරිහත් ඵලයට පත්වෙලා අගසව් වෙනවා. ඉතින් මේ සඳහා ගත වුන කාලය එක පාරටම හිතාගන්නවත් බෑ. මොකද ඒතරම් අති විසාල කාලයක්.**

**එදා මුගලන් මහ රහතන් වහන්සේ තමන්ගෙ මව්පියන් මරා දමන මොහොතේ එතැනට තරුණ පිරිසක් ඇවිත් තියෙනවා. ඔවුන් ඒ සිද්ධිය දැකල මොකද කරල තියෙන්නෙ, මේ විදිහට අම්මවයි, තාත්තවයි මරපු එකා අල්ලල උගේ ඇටකටුත් වී ඇට ගානට කුඩු වෙන්න ගහල මරල දාන්න ඕන කියල මහා ද්වේශයෙන් ප්‍රකාශ කරනවා. ඔය තරුණ පිරිස එදා ගත්ත දැඩි ද්වේශ සහගත සිතිවිල්ල නිසා, සසර ඉතා දීර්ඝ කාලයක් ගෙවුනත්, ඒ ප්‍රාර්ථනාව ඉෂ්ඨ සිද්ධ කරගන්න මුගලන් හාමුදුරුවො අගසව් වෙලා ඉපදෙනකොට ඔවුනුත් මනුස්ස ලෝකයේ ඉපදෙනවා. ඒ අනුව මුගලන් මහරහතන් වහන්සේව මරන්න දෙවතාවක් උත්සාහ කරනකොට, ඔවුන් කරගන්න යන ආනන්තරීය පාප කර්මයෙන් මුදවන අදහසින් උන්වහන්සේ ඒ දෙවතාවෙම ඔවුන්ව මග අරිනවා. තුන්වෙනි වතාවෙදි උන්වහන්සේ දකිනවා, අර අතීතයේ කරගත්ත ආනන්තරීය පාප කර්මයේ ශේෂ මාත්‍රයක් ඉතිරි වෙලා ඒක තමන් වහන්සේට විපාක දෙන්න නියමිත බව. ඒ තරුණයන් එදා ගත්ත සිතිවිල්ලෙන් විහිදවපු චිත්ත කිරණ ශක්තිය ඉතා බලවත්. ඒ නිසා මුගලන් මහ රහතන් වහන්සේට සිද්ධ වෙනවා ඒ අවස්ථාවට මුහුණ දීල හොඳටම ගුටි කාල පිරිනිවන් පාන්න. ඉතින් ඔවුන් එදා ගත්ත සිතිවිල්ල මත ක්‍රියාත්මක වෙලා, ඒ සිතිවිල්ල මත ක්‍රියා කරල, ඔවුන් හිතා ගත්ත දේ ඉෂ්ඨ සිද්ධ කරගත්තා. නමුත් අර තරුණ පිරිස අන්තිමට මහා ආනන්තරීය පාප කර්මයක් කරගත්තා.**

**මේ තමයි සිතිවිල්ලක් කළ හදියක තරම. දැන් ඔවුන්ටත් සිද්ධ වෙලා තියෙනවා අනුන්ගෙ සසර ගනුදෙනුවකට මැදිහත් වීම මත අවීචි මහා නිරයේ දුක් විඳින්න. ඉතින් ඔය කතාවෙන් අපි තේරුම් ගන්න ඕන, අනුන්ගෙ සසර ගනුදෙනුවලට මැදිහත් වෙලා හිත කය වචනය දූෂ්‍ය විදිහට මෙහෙය වීමෙන් අපිටත්**

**අනාගතයේ විසාල දුක් කන්දකට කරගහන්න සිද්ධ වෙන බව.**

දැන් ඉතින් රටේ තත්ත්වය ගත්තොත් අපිට පේනවා, කොයි තරම් පිරිසක් විසාල පාප කර්මයන්ට මග පාදගන්නවද කියල. ඒ නිසා අපි අනික් අයගෙ දොස්වලට කිපෙන්නෙ නැතිව, අනුන්ගෙ සසර ගනුදෙනුවලට දූෂ්‍ය හිතින් මැදිහත් වෙන්නෙ නැතිව, මැදහත් සිතින් ඒ සියල්ල ධර්මානුකූලව ඉවසන්න පුරුදු වෙන්න ඕන. ඔය වගේම තමයි, එදා බෝසතාණන් වහන්සේ පෙරුම් පුරන කාලයේ සිද්ධ වෙච්ච සේරිවාණිජ කතාවෙදි, රන් තැලියක් නිසා කිපුන දෙව්දත් තෙර සාප කරල විසි කරපු වැලි කැට ගානට, බෝසතාණන් වහන්සේගෙන් පළිගන්න උන්වහන්සේගේ පසුපස සසර අති දීර්ඝ කාලයක් ආපු කතාව. අන්තිමට දෙව්දත් තෙරත් රත්තරං තැලියකට ලෝභ වෙලා ආනන්තරීය පාප කර්ම එකට දෙකක්ම කර ගත්තා.

ඉතින් රන් තැලියකට පුළුවන් නම් ආනන්තරීය පාප කර්ම එකකට දෙකක් කරල දෙන්න, අද අපේ රටේ බෙදාගන්න යන වස්තු දිහා බැලුවම ඔවුන් මොන මොන ලෝකවලට යයිද, මොන විදිහෙ දුක් විඳින්න සිද්ධ වෙයිද, මොන තරම් කාලයක් ඊට වැය වෙයිද කියල මේ දහම දන්න අයට නම් බය හිතෙනවා.

ඔන්න ඔය තත්ත්වය තමයි අද රටේ තියෙන්නෙ. පාපයට ලැජ්ජා බය නැති වෙලා, අනාගතයේ මොනවා වුනත් කමක් නෑ කියල හිතල, පුළුවන් තරම් පස්කම් සැප විඳින්න හිතන විවිධ නායක පිරිස් නිසා, ඒ මග / ඒ මතවාද අනුගමනය කරල මහජනතාවත් අමාරුවේ වැටෙනවා. එදත් ඔය වගේ අවස්ථාවලදි වචනයෙන් හරි සිතිවිලි මාත්‍රයකින් හරි මැදිහත් වුන නිසා තමයි අපිට දිගු කාලීන යුද්ධයකට මුහුණ දෙන්න සිද්ධ වුනේ. ඉතින් අපි ඉදිරියටත් ඕකම කරගන්නවද කියල කල්පනා කරල බලන්න ඕන. මතු අනාගතය දිහා බලන්නෙ නැතිව තමන්ට වාසි ගන්න, පිරිසක් දුගතිගාමී සිතිවිලි හදාගෙන නැවත යුද්ධයකට පාර කපනවා. ඒක හරියට අර තුන්වෙනි ගුරුවරයා, ගහපු එක හරි කියල ගහපු අයව අගය කරනව වගේ වැඩක්. නමුත් මැදහත් සිතින් ඒ දිහා විමසල බැලුවම පේනවා ඒකෙනුත් සංහිඳියාව, සාමය, සහජීවනය, සාධාරණය ඉෂ්ඨ වෙන්නෙ නැති බව. ඒ වගේම තවත් පිරිසක් සංහිඳියාව ඇති කරන්න කියල තමන්ගෙ



මොනවහරි අනාගත බලාපොරොත්තු ඉෂ්ඨ සිද්ධ කරගන්න ත්‍රස්ත පිරිස්වලට අනුබල දෙනවා. ඒක හරියට දෙවෙනි ගුරුවරයා ගුටි කාපු ළමයට නැවත ගහන්න කියල කියනව වගේ වැඩක්. ඒ දිහා මැදහත් සිතින් විමසල බැලුවම පේනවා ඒකෙනුත් සංහිඳියාව, සාමය, සහජීවනය, සාධාරණය ඉෂ්ඨ වෙන්නෙ නැති බව. ඉතින් මේ දෙකෙන්ම ඔවුන් ඇතුළු මහජනතාව තවත් දුගතියට යන්නමයි හේතු හදාගන්නෙ. ඒකට ජාතියක්, ජන්මයක්, ආගමක්, කුලයක් නෑ. සියල්ලන්ටම පොදු පටිච්ච සමුප්පාද ධර්මතාවය අනුව ඒවාට කරගහන කාටත් සිද්ධ වෙන්නෙ දුගතිගාමී වෙන්න. එහෙම නැත්නම් උපන් තැන දුක් විපාක විඳින්න. ඒ නිසා මේ දෙකෙන්ම නියම සංහිඳියාව සිද්ධ වෙන්නෙ නෑ.

මේ වගේ යුද්ධයක් ඇතිවෙන්න, අපරාධ සිද්ධ වෙන්න අතීතයේ සිද්ධ වෙච්ච හේතු මුල් වෙනවා. මොකද හේතු නැතිව ඵල හට ගන්නෙ නෑ. තවදුරටත් පැහැදිලි කළොත්, ගහක ගෙඩියක් හට ගන්න මලක් පිපිල පරාගනය වෙලා මූලික සිද්ධි රාශියක් සම්බන්ධ වෙන්න ඕන වගේ. ඒ මූලික සිද්ධිවලට අපි හේතු කියල කියනවා. ගෙඩියකට ඵලය කියල කියනවා. නමුත් මේ හේතු ඵල පිටින් බැලුවම පේන්නෙ නැති නිසා සමහරු පිළිගන්නෙ නෑ. දැන් අපි මුගලන් මහ රහතන් වහන්සේගෙ සිදුවීම හා මේ යුද තත්ත්වය සසඳල බැලුවොත් අපිට පේන්නෙ, එදා මුගලන් මහ රහතන් වහන්සේගෙ සිද්ධියෙදි වගේ මෙතනදිත් හිතෙන් කයෙන් වචනයෙන් හිතපු කියපු කරපු දේවල් නිසා තමයි මේ විදිහෙ යුද්ධයකට මුහුණ දෙන්න සිද්ධ වුනේ කියල. මොකද ඒ පිරිසට නැවත මුගලන් මහ රහතන් වහන්සේව මුණගැහුන වගේ, මේ කාලයෙදිත් මේ වගේ යුද්ධයකට මූලිකවම මුහුණ දෙන්නෙ මීට පෙරත් මේ විදිහටම යුද්ධය පතපු දෙපිරිසක්ම තමයි. වෛරයෙන් වෛරය නොසන්සිඳේ කියනව වගේ මේ විදිහට ගියොත් කවදාවත් මේ රටාව ඉවරයක් වෙන්නෙ නෑ.

ඉහත විස්තර කරපු සිද්ධිවලින් අපි දැක්කා සිතිවිල්ලක තියෙන බරපතලකම. ඉතින් ඔය සිතිවිල්ලෙ තමයි දැනට ජීවත් වෙන සහ සටන් වැදිල මියගිය දෙපිරිසම ඉන්නෙ. දැනට ජීවත් වෙලා ඉන්න පිරිස හිතනවා, කොහොමද නැවත ඒ අයගෙන් පළිගන්නෙ කියල. ඒ සිතිවිල්ලෙම ඉඳල මැරුනම ඔවුන්ට අන්ත අසරණ තත්ත්වයකට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ඔවුන් ආබාධවලට පත් වෙලා තියෙනව නම්, ජීවත් වෙලා ඉන්න කාලෙදි නිකුත් කරන ද්වේශ චිත්ත කිරණ නිසා ඒ ආබාධ පවා හොඳ වෙන්න බාධා ඇතිවෙනවා. ඉතිං ඔහොම හිතුවම, කරන කිසිම දේකින් යහපතක් සිද්ධ වෙන්නෙ නෑ. අනෙක් අතට මියගිය පිරිස් තමන් ඉන්න පර ලෝකයෙත් ඔය විදිහටම කුලල් කා ගන්නවා. ඉතින් අද අපි මේ කරන දේවල්වලින් ඔවුන් කොහොමටත් සුගතිගාමී වෙන්නෙ නෑ. ඔවුන් වෛරයෙන් මත් වෙලා වෛරයත් සමග බද්ධ වෙලා බද්ධ වෛරයක් හදාගෙන අනාගතයෙත් දුක් විඳින්නමයි යන්නෙ. ඒ නිසා මොළයක් බුද්ධියක් තියෙන අපේ වගකීම තමයි ඔවුන්ට පුළුවන් තරම් යහපත උදා කරල දෙන එක. සංහිඳියාව, සාමය, සහජීවනය, සාධාරණය කියන එකේ අගය කියල දෙන එක. මොකද ඔය මානසික මට්ටමින් ඔවුන් මේ භූමියේ නැවත ඉපදුනොත් සහ දැනට ජීවත් වෙලා

ඉන්න පිරිස මියගිහින් නැවතත් මේ භූමියේ ඉපදුනොත්, ඔවුන් නැවතත් ඔය වගේ යුද්ධයකට පැටලෙනවා. ඉතින් අපේ වගකීම ඔවුන් ඒ තත්ත්වයෙන් මුදව ගන්න එක. ඒකෙ ප්‍රධාන වගකීම තියෙන්නෙ රටේ නායක පිරිස්වලට.

දැන් පසුගිය යුද්ධය දිහා ආපහු හැරිල බැලුවොත්, අපිට පේන්නෙ මේකෙදි මූලික වශයෙන්ම සටන් වැදුනෙ රටේ හමුදාව සහ දෙමළ මිනිස්සු අතරින් බිහි වෙච්ච අන්තවාදී ත්‍රස්ත පිරිස් කියල. ඉතින් ඔය පිරිස් මේ ලෝකයට එද්දි, මම සිංහල මවකට දාව උපදිනවා, මම දෙමළ මවකට දාව උපදිනවා කියල දැනගෙන ආවද? නැහැනේ. සසර ගනුදෙනු අනුව කර්ම ශක්තිය විසින් ඔවුන්ව ඒ තැනට මෙහෙයෙව්වා, මේ මේ අයගෙ අහවලා වෙලා උපදින්න කියල. දැන් ඉතින් ඔවුන් නැවතත් ඉපදෙනකොට සිංහල මනුස්සයා සිංහල වෙලාම ඉපදෙයිද, දෙමළ මනුස්සයා දෙමල වෙලාම ඉපදෙයිද? සසර ගනුදෙනු නිසා එහෙම වෙන්නෙ නැතිව මාරු වෙලා ඉපදුනොත්, ඔවුන් එදාට කාගෙ පැත්ත අරගෙන කාට විරුද්ධවද සටන් වදින්නෙ? එදා තමන් නියෝජනය කරපු පිරිසට විරුද්ධව සංවිධාන හදාගෙන අවි ආයුධ අතට අරගෙන තමයි සටන් වදින්න වෙන්නෙ. පෙර අත්බවයෙදි තමන්ගෙ අම්මා, තාත්තා, නංගි, මල්ලි, අයියා, අක්කා... ආදී නෑදෑ වෙච්ච පිරිස්ම නේද දැන් මරන්නෙ, වද හිංසාවට පත් කරන්නෙ? ඉතින් දැන් කෝ අපේ ජාතිකත්වය? එදා තිබුන ජාතිකත්වය නෙවෙයි අද තියෙන්නෙ? ඒක ඒ අත්භවයෙන් ඉවරයි. දැන් අලුත් එකක් හදාගෙන.

පෙර භවයෙදි අපි අයිති වුන ලෝක සම්මත ජාතියේ පැත්ත අරගෙන ඊට විරුද්ධ පාර්ශවය සමග ගැටිල, අද අපි ඒ විරුද්ධ පාර්ශවයේ කෙනෙක් වෙලා ඉපදුන නිසා පෙර අපේ වෙලා හිටපු අය සමග සටන් වදිනවා. ඔන්න ඕක තමයි කර්ම ශක්තියේ ස්වභාවය. ඔය විදිහට තමයි අනන්ත සංසාරයේ පටන් පැවතගෙන එන්නෙ. මේ යුද්ධය අද ඊයෙ ඇතිවුන එකක් නම් නෙවෙයි. "එදා අරුං අපිව පාගල දැම්මා. ඕකුන්ට හොඳ පාඩමක් උගන්වන්න ඕන" ඔය ආදී වශයෙන් අදහස් අරගෙන එකම පිරිස දෙපැත්තකට මාරු වෙවී තම තමන්ම ඇන කොටාගෙන යන ගමනක් තමයි මේ. ඔය වගේ දේවල් බුදු පියාණන් වහන්සේ දැක්ක නිසා තමයි, මේ ලෝකය ජීවත් වෙලා ඉන්න හොඳ තැනක් නෙවෙයි, නිවන් දකින්න උත්සාහ ගන්න කියල දේශනා කළේ.

ඒ නිසා තමයි එදා රෝහිණී කියන ගඟේ වතුර ටිකට ශාක්‍ය, කෝලිය දෙපිරිස සටන් වදින එක නවත්වන්න ලොව්තුරා බුදු පියාණන් වහන්සේ මැදිහත් වුනේ. නමුත් ජාතිවාදී අදහස් මත අන්තයටම බර වෙලා වැඩ කරන එකෙන් ඔවුන්ව ගලවගන්න බුදු පියාණන් වහන්සේටත් බැරි වුනා. දෙපිරිසම එකිනෙකා මරාගත්තා. ඒ නිසා ඒක පුළුවන් වෙන්නෙ තම තමන්ටමයි. හේතු ඵල දැකල තම තමන්ගෙ සිත් පිරිසිදු කරගෙන තමන් ස්වයං හික්මීමකට පත්වෙලා ලෝක සත්ත්වයා කෙරෙහි මෙත් සිත පතුරවන්න පුළුවන් වෙන්න ඕන. සංහිඳියාව, සාමය, සහජීවනය, සාධාරණය අගය කරන්න ඕන. මගෙන් පිටවෙන හුළං පොදකින්වත් අන් අයට කරදරයක්, හිංගියක්, හිංසාවක් නොවේවා කියලා හිතන්න ඕන. නැත්නම් මහා විනාසයකට තමයි මග පාදගන්නෙ.

මේ අවස්ථාවෙදි රටේ නායක පිරිස් මූලික වෙලා යහපත් සිතිවිලිවලින් යුතුව කටයුතු කරනව නම්, ඔවුන්ගෙ තියෙන ඒ පිං මහිමයට, නායකත්ව ශක්තියට ජනතාවගෙත් මෙත් සිත වැඩීමේ හැකියාව ඉබේම වර්ධනය වෙනවා. මොකද රටක නායකයෙක් නිකං පහළ වෙන්නෙ නෑ, ඒකත් අතීතයේ බුද්ධ සාසනවලට කරපු ඇප උපස්ථානවල පුණ්‍ය ඵලයක්. (හෙළ බොදු පියුම 44 කලාපයේ පළවූ "රාජ්‍ය නායකයන්ගේ පහළවීම දහම් ඇසින්" නම් ලිපියෙන් මේ ගැන පැහැදිලි කරල තියෙනවා)

හැබැයි මේ කියන්නෙ, මෙත් සිත වඩනවා කියල අද අපේ රටේ නායකත්වය දරන සමහර පිරිස් රටට ඕන දෙයක් වෙයන්, අපි නෙවෙයි ක්‍රියා මාර්ග ගන්නෙ කියල ඉන්න එක නම් නෙවෙයි. එහෙම රටක් පාලනය කරන්න බෑ. **බහුතරයකගේ සුබ සිද්ධිය උදෙසා, ජනතාවට දස අකුසලයෙන් වෙන් වෙලා වැඩ කටයුතු කරන්න පහසුකම් සැපයීම උදෙසා තමයි රජයක්, හමුදාවක් ඉන්න ඕන. මොකද ජනතාව යහපතේ රංජනය කිරීම තමයි රජ කියන්නෙ. සාමය උදා කිරීම තමයි හමුදාව කියන්නෙ. සාමය උදා වෙන්න යම් පිරිසක් මහන්සි ගන්නවද, ඒ පිරිස සාම + උදා - සමුදා හෙවත් හමුදා වෙනවා. හරියට සඳ සාවා හඳ හාවා වුනා වගේ. ඉතින් ඒ හමුදා පිරිස් විසින් බහුතරයකගේ හිත සුව පිණිස කරන කැප කිරීම අගය කරන්නත් ඕන. නමුත් ඒක කරන විදිහක් තියෙනවා.**

හමුදාවෙ කොටසක් හිරේ දාල අනික් පිරිසට ඒක සමරන්න දීම මගිනුත් වෙන්නෙ, ඔය මියගිය පිරිස තව තවත් වෛරයක් හදාගෙන ඒකෙන් මිදෙන්න අවස්ථාව තියෙනව නම් ඒකත් නැතිවෙන එක. හරියට අර කලින් කිව්ව දෙවෙනි ගුරුවරයා ප්‍රශ්නය විසඳුවා වගේ. එහෙම නැත්නම් ගුටිකාපු ළමයට ගහපු ළමයට ඔච්චම් කරන්න කියල කියනව වගේ. ඒකෙන් සංහිඳියාව, සාමය, සහජීවනය, සාධාරණය ඉෂ්ඨ වෙන්නෙ නෑ.

අර උපමාවෙන් පෙන්වපු විදිහට, 4 වෙනි ගුරුවරයා ප්‍රශ්නය විසඳුවා වගේ කටයුතු කළා නම්, සංහිඳියාව, සාමය, සහජීවනය, සාධාරණය කියන එකේ අගය පෙන්වල දුන්න නම්, විශේෂයෙන් අද වගේ එක පිලක් ජයග්‍රාහී මානසිකත්වයකිනුත්, අනෙක් පිල පරාජිත මානසිකත්වයකිනුත් ඉන්න අවස්ථාවක, ඔවුන් ඒ මානසිකත්වයන්ගෙන් මිදිල තමන් අතින් සිද්ධ වෙච්ච දේ ගැන හිතල, ඒ වගේ මුළා සහගත මානසිකත්වයකට නැවත පත් වෙන්නෙ නෑ. මොකද පරාද වුන පිරිස බලන්නෙ තමන් කොහොමද නැවත ඔවුන්ට ප්‍රති ප්‍රහාර එල්ල කරන්නෙ කියල. ඒ වගේම ජය ගත්ත පිරිස බලන්නෙ ඒ ජයෙන් හැමතිස්සෙම උද්දාම වෙන්න. ඒ නිසා මේ මානසිකත්වයන් දැන් පැත්තකට දාල ඒ සටන්වලට මැදිහත් වෙච්ච දෙපිරිසටම යහපත, සංහිඳියාව, සාමය, සහජීවනය, සාධාරණය උදා කරල දෙන වැඩ පිළිවෙලකට තමයි අපි හැමෝම යොමු වෙන්න ඕන.

මොකද අද ඒ දෙපිරිසම ඉන්නෙ අන්ත අසරණ තත්ත්වයක. මේ කියන්නෙ ජීවත් වෙලා ඉන්න පිරිස ගැන නෙවෙයි. මියගිය පිරිස ගැන. ඔවුන්ට කන්න බොන්න අඳින්න පළඳින්න නෑ, බෙහෙත් හේත් නෑ. පර ලෝකවලත් ඔහොම තමයි. මේ ලෝකෙදි තුවාල වුනා නම් ඒ විදිහටම තමයි ඒ සූක්ෂම ලෝකවලත් ඉන්නෙ.

ඉතින් අපි කරන්න ඕන, යුද මානසිකත්වයෙන් මිදෙන්න, සියල්ලන් සුවපත් වෙන්න, ඒ වගේම ආයු වර්ණ සැප බල නුවණ ලැබෙන්න කියල පින් අනුමෝදන් කරන ගමන් මෙත් සිත වඩන එක. ඒ සඳහා පහනක් පත්තු කරන්න පුළුවන්, එක සිතිවිලි



මාත්‍රයකින් මෙත් සිතක් වඩන්න පුළුවන්, පිංකම් කරන්න පුළුවන්, මේ සඟරාවෙම පසුගිය කලාපවල කියල තියෙන විදිහට ඥාති දාන දෙන්න පුළුවන්, පින් අනුමෝදන් කරන්න පුළුවන්. (හෙළ බොදු පියුම 27, 28, 29, 46 කලාප බලන්න.) විශේෂයෙන් රටේ වර්තමාන නායක පිරිස් සහ යුද්ධය පවතින කාලයේ හිටපු නායක පිරිස් කියන සියල්ලෝම හැකි තරම් මේ වගේ පිංකම් කරනව නම් තමයි වඩා යහපත් ප්‍රතිඵල ලැබෙන්නෙ. එහෙම නැතිව සංහිඳියාව කියල මුකුත් නොකරන එක හෝ උදම් අනන එක හෝ නෙවෙයි කරන්න ඕන.

දැන් කෙනෙක් කියන්න පුළුවන්, එතකොට මේ සේරම දේවල් කරන්න තියෙන්නෙ බෞද්ධයින්ටනෙ කියල. ඒක එහෙම තමයි. මොකද **දීර්ඝ සංසාරයේ පටන් පැවතගෙන එන මේ යුද මානසිකත්වයට නියම ඔසුව දෙන්න අවස්ථාව ලැබෙන්නෙ සම්බුද්ධ සාසනයක් තුළදී විතරයි. අබුද්දස්ස කාලවල ඊට නිසි පිළිතුරු නෑ.** ඒ නිසා තමයි අදටත් මේක මෙහෙම පැවතගෙන එන්නෙ. ඉතින් බුද්ධ සාසනය බබලන මේ කාලෙදි අපිට කරන්න පුළුවන් කොටස මග අරින එක මොන තරම් අපරාධයක්ද? ඒ නිසා තම තමන්ගෙ වාසිවලට ගිජු වෙන්නෙ නැතිව දැන්වත් නිසි ක්‍රියාමාර්ග ගන්න ඕන.

ඒ වගේම අනික් ආගම්වලත් අකුසලයෙන් මිදෙන්න කියල තමයි උගන්වන්නෙ. ඉතින් ඒ ආගම්වල පිරිසත් ඒ විදිහට සියලු දෙනාම කෙරෙහි ලෞකික වශයෙන් හරි මෙත් සිත පතුරවනව නම්, තම තමන්ගෙ ආගමේ හැටියට යහපත්ව කටයුතු කරනව නම් තමයි වඩාත් හොඳ. ඒකට තමයි රටක දේශපාලන නායකයො, ආගමික නායකයො මැදිහත් වෙන්න ඕන. එහෙම නැතිව මේ ප්‍රශ්නවලින් තම තමන්ගෙ පුද්ගලික මතවාද ජයගන්න කටයුතු කිරීම නෙවෙයි කරන්න ඕන.

**අනික් කාරණාව තමයි, පසුගිය කාලයෙදි අපි කිසිම තැනක දැක්කෙ නෑ, මේ යුද්ධයට මුහුණ දීල මියගිය සහ ආබාධවලට ලක්වුන පිරිසටත්, ඒ වගේම ජීවත් වෙලා ඉන්න සෙසු පිරිස්වලටත් භේදයක් නැතිව එක වගේ ආශිර්වාද කරනවා, එක වගේ පුණ්‍යානුමෝදනා කරනවා. ඒ සියල්ලෝම සෙත් පැතුවෙ, පුණ්‍යානුමෝදනා කළේ තමන්ගෙ කියල හිතාගෙන ඉන්න පිරිස්වලට විතරයි. නමුත් ඒක බුදුන් වහන්සේ පෙන්වා දීපු ක්‍රමය නෙවෙයි. ඒ නිසා මෙතනදි එහෙම නෙවෙයි වෙන්න ඕන.**

**මේ වගේ යුද ගැටුම් මේ භූමියේ පැවතුනේ කවර කාල වකවානුවලදීද, ඒ හැම කාලයකම මියගිය අය සතුරු මිතුරු භේදයකින් තොරව, අද කෙබඳු තැනක කෙබඳු අත්බැව් ලබල හිටියත්, ඒ සැම සියලු දෙනාම මේ අනන්ත සසරේ දුක් විඳින සත්ත්වයන් බව සිහි කරල, ඒ සියලු දෙනාටම මේ මහා පුණ්‍ය ශක්තියෙන් නැගෙන්නා වූ ශාන්තිය විහිදිලා පැතිරිලා සුගතිගාමී වෙලා සම්දිටු ගුණ පහළ කරගෙන, භව භෝග ඇති බව, ණය නැති බව, වරදක් නැති බව... ආදී වශයෙන් කියන ගුණයන්ගේ පිහිටල සියලු අභිවෘද්ධිය උදා කරගෙන මේ දහම් අවබෝධයට හේතු වාසනා ලබත්වා, මින් මතු ඒ අය කෙරෙහි කිසිම වෛර සිතක් නොවේවා, සසර වසනා තාක් නැවත මෙවැනි යුද ගැටුම් නොවේවා, අනන්ත සසරේ සිදු වූ සියලු වැරදි අසාධාරණයන්ට ප්‍රමාද දෝසයන්ට වන්දි ගෙවා නිදහස් වෙත්වා, මේ වගේ යුද්ධයකට මුහුණ දුන්න සියලු දෙනාම ජාති ආගම් කුලමල භේද නොතකා මේ පිං අනුමෝදන් වෙත්වා, සියලු දෙනාගේම සිත් නිවී සැනසෙත්වා, වෛර නැති වෙත්වා, සංසිඳෙත්වා, සිසිල් බවට පත් වෙත්වා, නිදහස් ශාන්තිය සියලු දෙනාටම අත් වේවා, දුක් කරදර දෝසාන්ධකාර අහලකටවත් ළං නොවෙත්වා, කායික මානසික පීඩා දුරු වෙත්වා, සියලු ආබාධ දුරු වෙත්වා, මේ වගේ යුද ගැටුම් හටගන්න යම් සසර ගනුදෙනු තිබුන නම් ඒවා මෙතෙකින් නිමා වෙලා ඒ හැම දෙනාගෙම සසර ගනුදෙනු පියවිලා නිදහස් වෙත්වා, උඩ යට වට සියලු දිසාවන්ට මෙත් සිත පැතිරිලා අවෛරී සිත් පහළ වෙත්වා, නිදහස් වෙත්වා, සංසිඳෙත්වා, මින් මතුවට මේ වගේ යුද ගැටුම්වලට ලේ වැගිරීම්වලට භාජනය නොවී උතුම් නිවන් සිසිලස උදා කර ගනිත්වා, සංසිඳෙත්වා... ආදී වශයෙන් ප්‍රාර්ථනා කරල, රටේ නායකකාරකාදීන් මුල් වෙලා මහා සංඝ රත්නය ලවා අධිෂ්ඨාන කරල ඒ පින්පෙත් විහිදුවා පතුරවනකොට මේ තියෙන විපත්ති දුරු වෙලා, සශ්‍රීකත්වය ලැබිල, ඒ අයගේ සිත් සතන් සතුටු වෙලා වෛරී සිතිවිලි අත්හැරිල මේ දහම් මගට අවතීර්ණ වෙන්න හේතු සැකසෙනවා.**

හැබැයි ඒ විදිහට පුණ්‍යානුමෝදනා කරන අවස්ථාවක් නම් අපිට පසුගිය කාලයේ දැකගන්න දැනගන්න ලැබුනෙ නෑ. ඒ නිසා දැන්වත් සාසනය කෙරෙහි පැහැදිලා රුවන්වැලි මහා සෑය, ජය ශ්‍රී මහා බෝධිය, දළඳා මාලිගාව... වගේ විශේෂ පුණ්‍ය ස්ථානවල තුනුරුවන් උදෙසා පූජා පවත්වල, ඒ පූජාවන්ට රටේ නායකකාරකාදීන් ඇතුළු සියලු දෙනාම සම්බන්ධ කරගෙන එකට එකතු වෙලා ඒ පූජාවන්ගෙන් නැගෙන මහා ශක්තිය විහිදුවන්න පතුරවන්න ඕන, පින් පෙත් දෙවන්න ඕන, මෙත් සිත වඩන්න ඕන. එක වතාවක් නැතිව කිහිප වතාවක්ම කරන්න ඕන. මොකද යුද වාතාවරණයකදි ගත්ත ලෝභ, දෝස, මෝහ අදහස් එක වතාවක් පූජා පවත්වල හරි ගස්සගන්න බෑ. ඒවා ඒ තරමටම බලවත්. ඉතින් එහෙම කළොත් තමයි දැනට ජීවත් වෙලා ඉන්න පිරිස සහ මියගිය පිරිස යන දෙපිරිසේම මනස පිරිසිදු වෙලා නිදහස් වෙලා සමථයකට පත්වෙලා සංහිඳියාව ඇතිවෙන්නෙ, යහපත් පරිසරයක් උදා වෙන්නෙ.

ඒ නිසා දැන් අපේ රටට අවශ්‍ය වෙන්නෙ මේ අරුත පටලවා ගත්ත සංහිඳියාව වෙනුවට, නැවත මේ විදිහෙ යුධ ගැටුම් ඇති නොවන ධර්මානුකූල සංහිඳියාවක්.

ඒ කාරණය තවදුරටත් පැහැදිලි කරනව නම්, මේ ප්‍රශ්නය මුළු රටටම බලපාන නිසා පිරිසක් තනි තනියෙන් පූජා උපහාර පැවැත් වුවා කියල නිසි ප්‍රතිඵල උදා කරගන්න බෑ. ඒ සඳහා අනිවාර්යයෙන්ම රජයේ මැදිහත් වීම අවශ්‍යයි. ඒ කියන්නෙ රජයේ පහල පිරිස් ලවා මේ පිංකම සිද්ධ කරනව කියන එක නෙවෙයි. විශේෂයෙන් රටේ ප්‍රධාන නායකතුමා මුල් වෙලා එතුමාගේ අතින්ම මේ දේවල් කරන්න ඕන. මොකද මුළු මහත් රටටම බලපාන ප්‍රධාන ප්‍රශ්නයකට විසඳුම දෙන්න යන අවස්ථාවකදි, ඒ අවස්ථාවෙ ඉන්න රටේ නායකතුමාගේ මැදිහත් වීමෙන් කරන පිංකම්වල ප්‍රතිඵල ඉතා ඉක්මනින් සාර්ථකව ලැබෙනවා. මොකද රටේ නායකයා කරන දේවල් රටටත් රටේ ජනතාවටත් බලපානවා.

තවදුරටත් රටේ අගමැති, මැති ඇමතිවරු, විපක්ෂයේ පිරිස්, අන්‍යාගමික පූජක පිරිස්, විශේෂයෙන් යුධ වාතාවරණයේදි රටේ පාලනය ගෙන ගිය හා ඒවාට නායකත්වය දුන්න සිවිල් හා හමුදා නිලධාරින් සම්බන්ධ කරගන්න ඕන. මේ පිංකම් විශේෂයෙන් බුදු පියාණන් වහන්සේගේ ද්‍රෝණයක් පමණ ධාතූන් වහන්සේලා නිදන් කරල තියෙන අති පූජනීය රුවන්වැලි මහා සෑ රදුන් ඉදිරිපිට හෝ ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ඉදිරිපිට හෝ කරනව නම් තමයි වඩා හොඳ. ඒ වගේ පූජනීය ස්ථානවල විශේෂ පීඨිකා හදල මේ පිංකම්වලට රටේ ජීවත් වෙන සියලු පිරිස් හැකිතාක් සම්බන්ධ කරගන්න ඕන. ඒකට රටේ තියෙන ජන මාධ්‍යත් සම්බන්ධ වෙලා මේ පිංකම් සජීවී විකාශනය කරල ඒ ස්ථානවලට නොපැමිණි මහජනතාවත් ඒ මොහොතේ සම්බන්ධ කරගන්න ඕන.

ඒ වගේම මේ පිංකම සිද්ධ කරන්නෙ කිසිම ජාති, ආගම්, කුල මල භේදයකින් තොරව සියලු දෙනාටම යහපත, අභිවෘද්ධිය, සාමය, සංහිඳියාව ඇති කිරීමේ අරමුණින් බව මේ පිංකම සිද්ධ කරන්න පෙර හැමෝම දැනුවත් කරන්න ඕන. මොකද එක අරමුණකට සියලු දෙනාම එකතු කරගන්න බැරි වුනොත් මේ පිංකම්වල නියම ප්‍රතිඵල ළඟා කරගන්න අපහසු වෙනවා. ඒ නිසා මේ අරමුණ ගැන කලින්ම දැනුවත් වෙන්න ඕන. මොකද නියම පිනක් සිද්ධ වෙන්නෙ පිංකමට පෙරත්, පිංකම කරන මොහොතෙත්, පිංකම සිද්ධ කළාට පසුවත් කියන මේ අවස්ථා තුනේදිම සිත නියම ආකාරයෙන් පිරිසිදු කරගත්තොත් විතරයි.

ඒ වගේම මේ පිංකම වතාවක් දෙවතාවක් නෙවෙයි, හතර පස් වතාවකට වඩා කළාම තමයි නියම ප්‍රතිඵල දැකගන්න පුළුවන් වෙන්නෙ. 21 වතාවක් කරන්න පුළුවන් නම් විශේෂයි. එකදිගටම කරන්න ඕනත් නෑ. සතියකට වරක්, සති දෙකකට වරක් කළාම ප්‍රමාණවත්.

ඒ වගේම ඒ පූජාවන් අතර සාසනය වෙනුවෙන් මහා පහන් පූජා සිද්ධ කරන්න ඕන. රටේ සියලු දෙනාටම ජාති, කුල, ආගම් භේදයකින් තොරව ආලෝකය, ප්‍රඥාව පහල වේවා, සාමය සංහිඳියාව උදා වේවා කියන අරමුණින් රටේ නායකතුමා මුල් වෙලා මේ පිංකම සංවිධානය කරල එතුමා විසින්ම හැකි තරම් පහන්වලට තෙල් දාල තිර දාල සියතින්ම පත්තු කරන්න ඕන. ඒ පහන් පිංකම අඩුගානෙ පහන් ලක්ෂයකින්වත් කරනව නම් තමයි හොඳ. මොකද ලක්ෂය කිව්වම ඉලක්කමින් ලක්ෂයක් වුනාට ගණිතයෙදි තිතටත් ලක්ෂය කියල කියනවා. මේ පින්කමත් තිතටම කරන්න නම් ලක්ෂයේ පිංකම් මාලාවක් වෙන්න ඕන. ඉතින් සාමාන්‍ය ජනතාවට විතරක් ඒ වගේ පිංකම් මාලාවක් කරන්න අපහසුයි. ඒකට තමයි විශේෂයෙන් රජයක් මැදිහත් වෙන්න ඕන. රජයකට මේ වගේ පිංකමක් කරන්න අපහසු නෑ.

තවදුරටත් රටේ ඉතා වැදගත් අනෙකුත් සිද්ධස්ථානවලත් මේ පිංකම කරන වෙලාවට පහන් 1,000 බැගින් පත්තු කරන්න පුළුවන් නම් තමයි හොඳ. ඒ වෙලාවට රටේ සියලු ආයතනවල, නිවෙස්වල එක පහනක්වත් පත්තු කරන්න කියල මාධ්‍ය ඔස්සේ දැනුවත් කරන්න පුළුවන් නම් තවත් හොඳයි.

ඒ වගේම මොන පාර්ශවයක වුනත් විශේෂයෙන් ආබාධයට ලක් වුන සහ මියගිය පිරිස් සිහි කරල සාසනය වෙනුවෙන් ඖෂධ පූජා පවත්වන්න ඕන. මොකද ඒ අය විඳින රෝගාබාධ දුරු වෙලා සියලු දෙනාටම නිරෝගී සම්පත්තිය, සිසිල් මානසිකත්වය, අභිවෘද්ධිය උදා වෙන්න ඕන නිසා.

ඒ අතර ආහාරපාන, සිසිල් පැන්, ඖෂධ, කුඩ, හැරමිටි, පාවහන් ආදිය සහිතව සාසනය උදෙසාත් මියගිය අය උදෙසාත් වෙන වෙනම දාන මාන පැවැත්වීම විශේෂයි. මොකද අන්ත අසරණ තත්ත්වයට පත් වෙලා ඉන්න මියගිය සහ ආබාධිත පිරිස් ඒ තත්ත්වයන්ගෙන් මුදව ගන්න වාරුවක් නැති වෙලාවෙදි වාරුවක් දෙන්න, අව්වෙන් වැස්සෙන් ආරක්ෂා වෙන්න, අපහසුතාවයකින් තොරව ගමන් කරන්න කියන මේ කාරණාත් සම්බන්ධ වුනාම කෙනෙකුට අවශ්‍ය සියලු දේ, ඒ කියන්නෙ ආහාර, ඉඳුම් හිටුම්, බෙහෙත්, ඇඳුම් පැළඳුම් යන මේ සියල්ලම (සිව්පසය) ලැබෙන නිසා.

ඒ වගේම මේ පිංකම් මාලාව අතරට ඒවාට සම්බන්ධ වෙන සිව්වනක් පිරිස හෙවත් භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා යන සියලු පිරිස්වලට දන් පැන්වලින් සංග්‍රහ කරන්න ඕන. ඔවුන්ට වගේම රටේ සියලු ජනතාවට ආයු, වර්ණ, සැප, බල, පටිභාන නුවණ වගේම සාමය සංහිඳියාව ලැබෙන්න කියල ප්‍රාර්ථනා කරන්න ඕන. පිපාසයෙන් පෙළෙන ජනතාවගේ පිපාසය දුරු වෙලා සිසිලස සංහිඳියාව උදා වේවා කියන අරමුණින් දුගී මගී යාචක ආදීන්ටත් රටේ නායකකාරකාදීන් අතින් දන්පැන් පිළිගන්වන්න ඕන. සතුන්ටත් යම් කිසි කොටසක් වෙන් කරල දෙන්න ඕන.

මේ පිංකම් අතර මෙත් සිත වඩන පිංකම් මාලාවකුත් කරන්න ඕන. මොකද දූෂිත වෙච්ච විශ්වය පරිසරය මෙත් සිත වැඩීමෙන් සුද්ධ කරල නිදහස් කරල දුන්නම ඒකෙන් නැගෙන ශාන්තිය සිසිලස ජීවත් වෙලා ඉන්න, මියගිය දෙපිරිසටම එක විදිහට ලැබිල යහපත අභිවෘද්ධිය සංහිඳියාව උදා වෙන්න හේතුවෙන නිසා.

මේ ආකාරයට කරුණු කාරණා හරි හැටි තෝරගෙන, අති දුර්ලභව පහල වෙන සම්බුද්ධ සාසනයක් තියෙන කාලයක බුදු මග අනුගමනය කරන ඒ මහා සංඝ රත්නයේ උපදෙස් අරගෙන, ඊට අදාළ ප්‍රතිකර්ම සිද්ධ කරල, නැවතත් මේ වගේ යුද්ධයක් ඇති නොවන දැහැමි රාජ්‍ය පාලනයක් මේ හෙළ දීපයේ පහල වේවා කියල මේ සාසනික වත් පිළිවෙත් ඉටු කරන්න ඕන. සැමට යහපත අභිවෘද්ධිය උදා වේවා.

**සටහන**
**විද්‍යාවේදී අමිත් සමරනායක**
**බෙල්ලන්තර**
**071 9997885**



# සාසනය උදෙසා නොයෙක් දේ පූජා කිරීමේ ආනිසංස

01 කොටස

පිදිය යුත්තන් පිදීම මහත් ඵල සැප විපාක ලැබෙන උතුම් පිංකමක්. නමුත් සමහර අති පණ්ඩිතයන්, වැඳුම් පිදුම් කිරීම වැඩකට නැති දේවල් විදිහට ලෝකයට කියා පානවා. විහාර, චෛත්‍ය ආදිය වැඳුම් පිදුම් කිරීම විතරක් නෙවෙයි, ඒවා සකස් කිරීම පවා මෝඩ බෞද්ධයන්ගෙ වැඩ විදිහට, සාසන විරෝධී දේවල් විදිහට කියාපාමින් සාමාන්‍ය ජනතාව මුළාවට පත් කරවන අයත් නැතුවා නෙවෙයි.

යම් කෙනෙක් චෛතිය චාරිකාවේ හැසිරෙමින් සැදැහැ සිතින් චෛත්‍ය මළු අමදමින්, මල් ආසන පිරිසිදු කරමින්, බෝධීන් වහන්සේට පැන් ඉසිමින් කටයුතු කරනවද, ඒ පුද්ගලයට කවද හරි දිව්‍ය සම්පත් ලැබීම ගැන කියන්න ඕන නෑ. ඒක ඒකාන්තයෙන් ලැබෙනවා. අභවල් විහාරයේ චෛත්‍යය වඳින්න ප්‍රසන්න සිතින් පිටත් වෙලා යන අතර මගදි මරණයට පත් වුනත්, ඔහු පවා මරණින් පසු සුගතියේ උපදින බව මහා පරිනිර්වාණ සූත්‍රයේ වගේම ඊට අදාළ අට්ඨ කතාවෙත් සඳහන් වෙනවා.

අනුරාධපුර රුවන් වැලි මහා සෑය ආසන්නයේ විතරක් වැඩීමෙන් පිදීමෙන්, දර්ශන මාත්‍රයෙන් බුද්ධාලම්බන ප්‍රීතිය මතුකර ගැනීමෙන් පවා දෙව් මිනිස් සැප ලබපු අය අප්‍රමාණයි. ඒ වගේම සියලු කෙලෙස් ප්‍රහාණය කරල නිවන් අවබෝධ කළ අයත් අප්‍රමාණයි. ඒ බව සංයුක්ත නිකායේ අට්ඨ කතාවේ මේ විදිහට සඳහන් වෙනවා.

මහා විහාරස්මිංහි

දක්ඛිණද්වාරේ ඨත්වා මහා චේතියං

ඔලෝකෙන්තා තිංස සහස්සා

භික්ඛූ අරහත්තං පාපුණිංසු...

දර්ශන මාත්‍රයෙන් බුද්ධාලම්බන ප්‍රීතිය ඇති කරගෙන, මළුවෙ අතුරල තියෙන වැලි ප්‍රමාණය ඉක්මවල ඒ තරම් විසාල පිරිසක් රහත් වූ බවත්, එක පියවරක් තියන්න පුළුවන් භූමි ප්‍රමාණයක දහස් ගණන් අරිහත් වුන බවත් පැවසෙනවා. ඒක එහෙම නම් ඒ පූජනීය ස්ථාන වැඳීම, පිදීම, වතාවත් කිරීම, දියුණු කිරීම, වෙහෙර විහාර තැනීම... ආදියෙන් ලැබෙන කුසලය මෙපමණයි කියන්න පුළුවන්කමක් නෑ.

වැඳුම් පිදුම් කිරීම හිස් වැඩ කියල කියන අති පණ්ඩිතයන් ගැන දීඝ නිකාය සතිපට්ඨාන සූත්‍ර අටුවාවේ මේ විදිහට සඳහන් වෙනවා. "බලව පඤ්ඤො, මන්ද සද්ධෝ කෙරාටික පක්ඛං බජති..." බෙහෙත් අපත්‍ය වීමෙන් හට ගත්ත රෝගයකට ප්‍රතිකාර කරන්න දුෂ්කර වගේ, සද්ධාව අඩු කපටි නුවණ තියෙන අයට අනුන් විසින් අනුසාසනා කළත් හොඳ අදහස් ඇති කෙනෙක් වෙන්නෙ නෑ. ඒ අය දානමාන පූජා සත්කාර ආදියක් නොකර දුගතිගාමී වෙන්න තියෙන ඉඩකඩ වැඩියි.

පූජාවක් කිරීමේ පිළිවෙල දන්නෙ නැතිකමත්, පිළිම, චෛත්‍ය, බෝධි හැදීමේ තේරුම දන්නෙ නැතිකමත්, පින කියන්නෙ මොකක්ද, ඒක ලැබෙන්නෙ කොහොමද කියල දන්නෙ නැතිකමත් නිසා, දැන් බුදුන් වහන්සේ නෑ, ඒ නිසා තථාගතයන් වහන්සේට ආහාරපානාදිය පූජා කරන්න බෑ, වත්පිළිවෙත් කරන්න බෑ කියල හිතන අය ඉන්නවා. ඒ වගේම මැටි පිළිමවලට පහන් පත්තු කිරීම, ආහාර පූජා කිරීම තේරුමක් නැති නිෂ්ඵල වැඩ කියල ලෝකයා මුළාවේ දමන්න කරුණු කියනවා.

තථාගතයන් වහන්සේ ජීවමානව වැඩ හිටියත් පිරිනිවන් පෑවත්, උන්වහන්සේ උදෙසා කරන පූජාව එක සමානව පිං සිද්ධ වෙන බවට විවාදයක් නෑ. දැන් පූජා කරන්නා වූ ආහාරපානාදියෙන් බුදුන් වහන්සේට හෝ ප්‍රතිමාවලට හෝ ප්‍රයෝජනයක් නොවීම සත්‍යයක්. හැබැයි **ප්‍රයෝජන වීම හෝ නොවීම පින ලැබීමට හෝ නොලැබීමට කාරණයක් නෙවෙයි.** ප්‍රයෝජන නොවීම පින් නැතිවීමට කාරණයක් කියල හිතන්නෙ පින මොකක්ද කියල නොදන්නාකම නිසා.

**පින කියන්නෙ මුදලක් දීල භාණ්ඩයක් මිලදී ගන්නව වගේ, යමක් පූජා කරල බුදුන් වහන්සේගෙන් ගන්නා දෙයක් නෙවෙයි. පූජා කළ වස්තුවෙන් බුදුන් වහන්සේට වුන ප්‍රයෝජනයේ හැටියට අඩු වැඩි වෙලා පසුව ලැබෙන දෙයකුත් නෙවෙයි. පින කියන්නෙ බුදුන් වහන්සේගෙන් ගන්න දෙයක් නම්, තථාගතයන් වහන්සේ හමු වෙලා මිසක් ඒක ලබාගන්න බෑ. පූජා කරපු දේ බුදුන් වහන්සේ ප්‍රයෝජනය ගත්තට පස්සෙ එන දෙයක් නම්, බුදු රජුන්ට ප්‍රයෝජන නොවීමෙන් පින් ලැබෙන්නෙ නෑ. මේ දෙකම මෙහෙම සිද්ධ නොවෙන නිසා, පූජා කරන දේවල්වලින් බුදුන් වහන්සේට ප්‍රයෝජනයක් නොවීම පින නොලැබීමට හේතුවක් කීම විහිළුවක්.**

බුද්ධ පූජා කිරීමෙන් ලැබෙන කුසලය කියන්නෙ පූජා කරන තැනැත්තා තුල වස්තුව පූජා කිරීම නිසා පහල වෙන හිත. පූජා කළ වස්තුව බුදුන් වහන්සේට පසුව ප්‍රයෝජන වුනත් නැතත්, පූජා කරන්නා වූ තැනැත්තා තුල පහල වෙන කුසලයට ඒකෙන් වෙන හානියක් නෑ. බුදුන් වහන්සේ ජීවමාන කාලයේ ආනන්ද බෝධිය

රෝපණය කිරීමෙනුත් අපදාන පාළියේ සඳහන් වෙන විස්තරවලින් ඒ බව මනාව පැහැදිලි වෙනවා. ඒ නිසා තුනුරුවන් කෙරෙහි කරන පුද පූජා වගේම, චිත්ත ප්‍රසාද මාත්‍රය පවා මහා සම්පත් ලබන්නත් නිවන් දකින්නත් උපනිශ්‍රය වෙන බව වටහාගෙන කටයුතු කරන්න බුද්ධිවන්ත වෙන්න ඕන.

සාසනය උදෙසා ඒ ඒ දේවල් දන් දීමේ ආනිසංස වෙන වෙනම දැන ගන්න පිළින්දවච්ච මහ රහතන් වහන්සේගේ අතීත කතාවෙන් පුළුවන්කම ලැබෙනවා. මෙයින් කල්ප ලක්ෂයකට පෙර පදුමුත්තර බුදු රජාණන් වහන්සේ ලෝකයේ පහළ වුනා. එදා පිළින්දවච්ච මහ රහතන් වහන්සේ හංසවතී නගරයේ බොහෝ ධන සම්පත් තියෙන පවුලක ඉපදුනා. ඔහු මේ විදිහට කල්පනා කරනවා.

මට බොහෝ ධන සම්පත් තියෙනවා. තථාගතයන් වහන්සේත් ලෝකයේ පහළ වෙලා ඉන්නෙ. පදුම කියන රාජ කුමාරයා විසින් බුදු පාමොක් මහ සඟ රුවනට ඇතුන් හා ඇඳ පුටු ආදී බොහෝ භාණ්ඩ පූජා කළා. මමත් මීට පෙර කිසි කෙනෙක් දීල නැති සියලු පරිස්කාරවලින් යුක්ත මහා දානයක් දෙන්න ඕන.

මෙහෙම හිතල, තථාගතයන් වහන්සේ ප්‍රධාන ලක්ෂයක් සංඝයා වහන්සේලාට පූජා කිරීමට අවශ්‍ය කුඩ, පාත්‍ර, සිවුරු එකතු කළා. පදුමුත්තර බුදු රජාණන් වහන්සේ ඇතුළු ලක්ෂයක් මහ රහතන් වහන්සේලාට දානයට ආරාධනා කළා. ඥාති මිත්‍රාදී බොහෝ ජනයා රැස් කරවාගෙන විසාල මණ්ඩප හදල සපු, නා, වැටකේ, හෙළ පියුම්, රත් පියුම්... ආදී නොයෙක් මල් වර්ගවලින් සරසවල ආසන ලක්ෂයක් සකස් කරල කුඩ ලක්ෂයක් නංවල දාන සාලාව පිළියෙල කළා. පදුමුත්තර බුදු රජාණන් වහන්සේට දානයට කාලය සැල කළාම ලක්ෂයක් රහතන් වහන්සේලා සමග දානයට වැඩියා.

තථාගතයන් වහන්සේට වන්දනා කරල, ස්වාමීනි මා විසින් පිළියෙල කළ මේ කුඩ ලක්ෂය හා ආසන ලක්ෂය මා කෙරෙහි අනුකම්පාවෙන් පිළිගන්න සේක්වා කියල ආරාධනා කළාම, තථාගතයන් වහන්සේ ඇතුළු ශ්‍රාවකයන් වහන්සේලා ආසනවල වැඩ සිටියා. සියලු දෙනා වහන්සේලාටම ලෝහ පාත්‍රය බැගින් පිළිගන්වල සියලු පරිස්කාර සහිතව මහා දානයක් පිරිනැමුවා. පදුමුත්තර බුදු රජුන් ඔහුට අනුග්‍රහ පිණිස ඒ මල් මඩුවේ සතියක්ම වැඩ සිටියා. එහිදී බුදු රජුන් රැස් වෙලා හිටපු පිරිසට ධර්ම දේශනා කළාම අසූහාර දහසක් දෙනා ධර්මාවබෝධය ලැබුවා.

හත්වන දවසේ තථාගතයන් වහන්සේ මේ දානයේ ආනිසංස පැහැදිලි කරමින්, ඔහු සසර බොහෝ සැප සම්පත් විඳල කල්ප ලක්ෂයකින් පසු පහළ වෙන ගෞතම බුදු සමිඳුන්ගේ සාසනයේ පිළින්දවච්ච නමින් ශ්‍රාවකයෙක් වෙලා දේවතාවන්ට ප්‍රියමනාප පුද්ගලයන් අතරින් අග තනතුර ලබන බව දේශනා කළා. පිළින්දවච්ච මහ රහතන් වහන්සේ ඒ ඒ දානයෙන් ලැබූ ආනිසංස වෙන වෙනම අපදාන පාළියේ මේ විදිහට විස්තර වෙනවා.

## ඡත්‍ර දානයේ අනුසස්

බුදු රජාණන් වහන්සේ ඇතුළු සංඝ රත්නයට කුඩ පූජා කිරීම නිසා ආනිසංස 8 ක් ලැබුනා. සීත උෂ්ණ දෙකෙන් පීඩා ඇති නොවීම, ශරීරයේ කුණු නොඇලීම, උපද්‍රව අනතුරු නොමැති වීම, අනුන්ගේ ගෞරවයට පත්වීම, ශරීරයේ සියුම් හමක් ඇති වීම, සිත පිරිසිදු වීම කියන ආනිසංස ලැබුනා. දෙව් මිනිස් කුමන අත්බැවක් ලැබුවත් හිස මත සියලු අලංකාරවලින් යුක්ත කුඩ ලක්ෂයක් දැරුවා. අරිහත්වයට පත් වුන අත්බැවේදී හිසට ඡත්‍රයක් නැති වුනේ අරිහත් ඵලය නමැති ඡත්‍රය තිබුන නිසා බව සඳහන් වෙනවා.

උපසේන රහතන් වහන්සේ පදුමුත්තර තථාගතයන් වහන්සේට ඡත්‍ර දානයක් දුන්න ආනිසංසයෙන් 36 වරක් සක් දෙව් සම්පත්, 21 වරක් සක්විති රජ සම්පත්, තවත් බොහෝ ප්‍රදේශවල රජ පදවිත් ලබල ගෞතම බුදු සසුනේ සිව්පිළිසිඹියාපත් සහිතව අරිහත්වයට පත් වුන බව සඳහන් වෙනවා.

අතීතයේ පහළ වුන තිස්ස කියන භාග්‍යවතුන් වහන්සේට වාතාතපනිවාරිය කියන තෙරුන් වහන්සේ විසින් ප්‍රසන්න සිතින් ඡත්‍රයක් පූජා කළා. ඒ පිනෙන් සිත නිතරම පවෙන් වැළකිලා කුසලයට නැඹුරු වෙමින් උපන් අත්බැව්වල අහසේ නිතර ඡත්‍රයක් පහළ වුනා. දුගතියෙන් වැළකිලා සුගති සම්පත් ලබමින් සසර එනකොට මෙයින් 72 වන කල්පයේ අට වරක් සක්විති රජ පදවි ලබල ගෞතම බුදු සසුනේ අභිඥා ලාභීව සිව්පිළිසිඹියා සහිතව භව ගමන නිමා කරගත්තා.

පදුමුත්තර බුදු රජාණන් වහන්සේ මහා මේඝයක් වගේ සදහම් අමා වැසි වැස්සුවා. ධර්ම දේශනා කරන තථාගතයන් වහන්සේට පහන් සිතින් අලංකාර විදිහට සරසපු කුඩයක් අල්ලගෙන හිටියා. බුදු රජාණන් වහන්සේ භික්ෂූන් මැද මෙහෙම දේශනා කළා.

මේ මනරම් කුඩය දැරූ පුද්ගලයා බුදු රජුන් කෙරෙහි සිත පහදවා ගැනීම හේතුවෙන් දුගතියකට යන්නෙ නැතිව හත් වරක් දෙවියන්ගේ රජු වන සක් දෙව් පදවි ලබනවා. තිස් දෙවරක් සක්විති රජකම ලබනවා. දෙවියන් අතර ඉපදුන විට උතුම් විමානයක් ලබල ඒකෙ ඡත්‍රයක් පහළ වෙනවා. දෙව් මිනිස් දෙගතියේ පමණක් ඉපදෙමින් ගෞතම බුදු රජුන් කාලයේ මිනිස් ලොව මව් ගැබක උප්පත්තිය ලබනවා. ගැබ තුළ ඉන්නකොටත් සේසතක් දරනවා.

මේ විදිහට මිනිස් අත්බැවක් ලබල වයස හතේදි පැවිදි වෙලා පෙර කළ පුණ්‍ය කර්ම සිහි කරල අරිහත්වයට පත් වුනා. සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබාගෙන සම්බුදු සසුන සම්පූර්ණ කරගත්තා.

## වස්ත්‍ර දානයේ අනුසස්

තථාගතයන් වහන්සේට, සංඝ රත්නයට වස්ත්‍ර පූජා කිරීමෙන් රන්වන් සිරුරක් ලැබීම, ශරීරයේ කුණු දූවිලි නොතැවරීම, රැස් විහිදෙන ප්‍රතාපවත් කයක් ලැබීම, සිරුරේ සම සිනිඳු වීම, සසර සැරිසරනකොට සුදු, කහ, රතු... ආදී පැහැය ඇති වස්ත්‍ර ලක්ෂ ගණන් ලැබීම ආදී ආනිසංස ලැබෙනවා.

සිද්ධාර්ථ කුමාරයගෙ ඥාති සහෝදරයෙක් වන නන්ද කුමාරයා පදුමුත්තර තථාගතයන් වහන්සේට කොමු වස්ත්‍රයක් (පට්ටවල නූල්වලින් සැකසූ වස්ත්‍රයක්) පූජා කළා. ඒකෙ ආනිසංස තථාගතයන් වහන්සේ මේ විදිහට ප්‍රකාශ කළා.

මේ සිදු කරගත්ත පිනෙන් ශරීරය රන්වන් වර්ණ ඇතිවෙනවා. මෙයින් එක් දහස් එකසිය වන කල්පයේ "චේල" නමින් සක්විති රජවරුන් හතර දෙනෙක් වෙලා උපදිනවා. එක් දහස් හැටවන කල්පයේ "උපචේල" නමින් සක්විති රජවරු හතර දෙනෙක් වෙනවා. එක් දහස් පස්වන කල්පයේ "චේල" නමින් සත් රුවනින් යුතු සතර මහා දිවයිනේ රජවරු 4 දෙනෙක් වෙනවා.

මේ විදිහට සසර දෙව් මිනිස් සැප ලබල සිදුහත් කුමාරයගෙ ඥාති සොහොයුරා වෙලා ඉපදෙනවා.



කාමයන්ට ගිජුවෙලා සැප විඳල පසුව තථාගතයන් වහන්සේ විසින් පැවිදි කරල කුසල් වඩල අරිහත්වයට පත්වෙලා පිරිනිවන් පානවා.

වත්ථදායක තෙරුන් වහන්සේ අතීතයේ ගුරුළු රජෙක් වෙලා ඉපදිලා ඉන්නකොට ගන්ධමාදන පර්වතයට වඩින අත්ථදස්සී බුදු රජාණන් වහන්සේව දැක්කා. ගුරුළු වේශය අත්හැරල තරුණ මනුස්ස වේශයක් අරගෙන බුදු රජුන්ට වස්ත්‍රයක් පූජා කළා. ලෝක නාථයන් වහන්සේ ඒක පිළිඅරගෙන ආකාසෙ වැඩ ඉඳගෙන මේ විදිහට වදාළා.

මේ වස්ත්‍ර දානයෙන් හා චිත්ත ප්‍රබෝධය හේතුකොටගෙන ගුරුළු අත්බැව හැර දෙව් ලොව ඉපදිලා දිව්‍ය සම්පත් ලබනවා. ඒ වගේම සසර උපනුපන් ආත්මවලදී වස්ත්‍ර සම්පත් ලැබෙනවා. අහසේ වියනකුත් ඇතිවෙනවා. තිස් හය වන කල්පයේ අරුණක නමින් සක්විති රජවරු හත් දෙනෙක් වෙලා ගෞතම බුදු සසුනේ වත්ථදායක නමින් අරිහත්වයට පත්වෙලා භව ගමන නිමා කර ගන්නවා.

විපස්සී බුදු රජාණන් වහන්සේ හැට අට දාහක් භික්ෂූන් පිරිවරාගෙන බන්ධුම නගරයට වැඩියා. එහිදී මට තථාගතයන් වහන්සේ දැක ගන්න ලැබුනා. ඒ කාලයේ අසූ දහසක් යක්ෂයෝ මා සමීපයේ සක්‍ර දෙවියන්ට වගේ මට උපස්ථාන කරනවා. මම දිව්‍ය භවනට ගිහින් දිව්‍යමය සළු ගෙනත් බුදු රජුන්ට පූජා කරල හිස නමා වන්දනා කළා.

අහෝ, බුදු රජාණන් වහන්සේ නම් මහා ආශ්චර්යයි, ධර්මයත් ආශ්චර්යයි. බුදු රජාණන් වහන්සේගේ ආනුභාවයෙන් මේ මහ පොළොවත් කම්පා වුනා. තථාගතයන් වහන්සේගේ ඒ විස්මය දැකල මම උන්වහන්සේ කෙරෙහි සිත පහදවා ගත්තා. තිසරණයත් සමාදන් වුනා. මේ කරගත්ත පිනෙන් දුගතියකට උප්පත්ති වශයෙන් ගියේ නෑ. මෙයින් 15 වන කල්පයේ සත් රුවනින් යුත් මහත් බල ඇති සුවාහන නමින් දහසය වාරයක් සක්විති රජ පදවි ලැබුවා. ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත් වුනා.

සිද්ධාර්ථ කියන තථාගතයන් වහන්සේ ලෝකයේ පහළ වෙලා ඉන්නකොට තිවරා නුවර රාජ පුත්‍රයෙක් වුන මම පඬුරු පිණිස ලැබුන වස්ත්‍රයක් බුදු රජුන්ට පූජා කළා. තථාගතයන් වහන්සේ ඒක පිළි අරගෙන අතින් ස්පර්ශ කරල ආකාසයෙන් වඩිනකොට අර වස්ත්‍රයත් උන්වහන්සේගේ පිටුපසින් ඇදිල ගියා. ඒක දැකපු මට බුදු රජුන් කෙරෙහි තව තවත් චිත්ත ප්‍රසාදය ඇති වුනා.

මෙයින් 94 වන කල්පයේ යම් වස්ත්‍ර පූජාවක් කළේද, එතැන් පටන් දුගතියක ඉපදෙන්නෙ නැතිව සසර එනකොට 67 වන කල්පයේ "පරිසුද්ධ" නමින් සක්විති රජ කෙනෙක් වුනා. මේ විදිහට සසර බොහෝ සම්පත් ලබල ගෞතම බුදු සසුනේ "දුස්සදායක" නමින් අරිහත්වයට පත් වෙලා සසර දුක් නිමා කරගත්තා.

මම පෙර උපාධ්‍යායන් වහන්සේට වස්ත්‍රයක් අරගෙන ගියා. හී පහරක් එනකොට ඒක වළක්වන්න පුළුවන් මන්ත්‍රයකුත් ඉගෙන ගත්තා. ඒ වෙලාවේ තිස්ස කියන තථාගතයන් වහන්සේව දැකල ඒ වස්ත්‍රය තථාගතයන් වහන්සේ වෙනුවෙන් බිම ඇතිරුවා. උන්වහන්සේ කෙරෙහි සිත පහදවාගෙන දෙපා වන්දනා කළා. 94 වන කල්පයේ යම් වස්ත්‍ර පූජාවක් බුදු රජුන් උදෙසා පූජා කළේද එතැන් පටන් දුගතියක ඉපදුනේ නෑ. මෙයින් 37 වන කල්පයේ "සුනන්ද" නමින් සක්විති රජෙක් වෙලා ඉපදුනා. ගෞතම බුදුන් වහන්සේගේ කාලයේ පැවිදි වෙලා සිව්පිළිසිඹියා සහිතව අරිහත්වයට පත් වුනා.

ගෞතම බුදු සසුනේ වැඩ හිටපු "කිලඤ්ජදායක" තෙරුන් වහන්සේ සිද්ධාර්ථ බුදු රජුන් කාලයෙත් තිවරා නගරයේ නලාකාරයෙක් (බට පොතු කර්මාන්ත කරන) වෙලා හිටියා. බුදු රජුන්ට පූජා කරන්න කලාලයක් හොයමින් හිටපු අයට කලාලයක් දුන්නා. මෙයින් 94 වන කල්පයේ සිදු කරගත්ත ඒ පිනෙන් දුගතියක ඉපදෙන්නෙ නැතිව සසර එනකොට 77 වන කල්පයේ මහත් බල ඇති ජුතින්ධර කියන සක්විති රජ පදවිය ලැබුවා. ගෞතම බුදුන් වහන්සේගේ සාසනයේ පැවිදි වෙලා සව් කෙලෙසුන් නසල අරිහත්වයට පත් වුනා.

ඒ කාලෙ මම හංසවතී කියන නුවර තණ විකිණීමෙන් අඹු දරුවන් පෝෂණය කරමින් වාසය කළා. පදුමුත්තර බුදු රජුන් පහළ වෙලා වැඩ ඉන්නකොට මට උන්වහන්සේට පූජා කරන්න දෙයක් තිබුනෙ නෑ. මා සතුව එක සළුවක් තිබුනා. ඒක පූජා කරල පුණ්‍ය බීජයක් රෝපණය කරගන්න ඕන කියල ප්‍රසාද සිතින් සළුව බුදු හිමියන්ට පූජා කළා. මම අත්පොළසන් දීල, ඔබවහන්සේ බුදුවරයන් වහන්සේ නමක් නම් මා සසර සයුරෙන් එතෙර කරවනු මැනවැයි කිව්වා. මගේ දානය ගැන ප්‍රසංසා කරමින් අනුමෝදනා කරල, මේ වස්ත්‍ර දානය හේතු කරගෙන කල්ප ලක්ෂයක් අපායක උපදින්නෙ නෑ, 36 වරක් සක් දෙව් පදවියත්, 33 වරක් සක්විති රජ පදවියත් ලබනවා, ගණනින් කියන්න බැරි තරම් ප්‍රදේශ රාජ්‍ය තනතුරු ලබනවා කියල දේශනා කරල හංසයෙක් වගේ ආකාසයෙන් වැඩම කළා.

දෙව් මිනිස් කොතැනක ඉපදුනත් භෝග සම්පත්වල අඩුවක් වුනේ නෑ. පියවරක් පාසා වස්ත්‍ර පහළ වෙනවා. වියන් ආදී වශයෙන් සැකසිලා වස්ත්‍ර යටම වාසය කළා. හිස මත්තේ වියනකුත් පිහිටියා. මුළු මහත් සක්වලම වස්ත්‍රයකින් වහන්න පුළුවන් හැකියාවක් තිබුනා. වස්ත්‍ර පූජා පිනෙන්, උපදින හැම භවයකම ශරීරය රන්වන්ව බැබලුනා. මේ මාගේ අන්තිම ජාතියයි. සියලු කෙලෙස් දවා හැරියා. ඇතෙක් වගේ භවයෙන් එතෙර වෙලා ආශ්‍රව රහිතව වාසය කරනවා.

උත්තරෙය්‍ය දායක තෙරුන් වහන්සේ පදුමුත්තර බුදු රජුන් දවස

   

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 09

**<u>කහකඩ ව්‍යංජනය</u>** – ඉස්සර අපි වෑවර ගෙඩියක්, තැඹිලි ගෙඩියක් බිව්වම ඕක පලාගෙන ලොඳයත් කාලා, අන්තිමට කහකඩ ටිකත් උලුප්පගෙන කාලා තමයි අහකට දාන්නෙ. ඒකට දැන් ඉන්න පිරිස, විලාසිතාවටයි කම්මැලිකමටයි තැඹිලි ගෙඩියට ප්ලාස්ටික් බටයක් දාල වතුර ටික විතරක් බීල අහකට දානවා. ඒ බටෙත් දූවිලි තට්ටු ගණන් බැඳිලා. හැබැයි ඒක පේන්නෙ නෑ. මොනවා කරන්නද, බටහිර ජාතිකයො කරන හැම දෙයක්ම අනුකරණය කරන්න ගියාම, අන්තිමට අපිට තිබිච්ච වටිනා දේත් විසි කරල පිට ඔපය විතරක් ගන්න සිද්ධ වෙලා තියෙනවා.

මේ තැඹිලි, කුරුම්බ ගෙඩියේ විසි කරන කොටසිනුත් අපේ ආහාරයට එකතු කරගන්න වටිනා ඖෂධ ශක්තියක් තියෙනව කියන කාරණය අද හුග දෙනෙක් දන්නෙ නෑ. තැඹිලි පොල්, නවසි පොල්, කුරු පොල්, පැණි පොල්, කුන්දිරා පොල්, රතු පොල්, නැටි නැති පොල්... ආදී වශයෙන් පොල් ප්‍රභේද ගණනාවක්ම තියෙනවා. එදා අපේ හෙළයන් පොල් ගහ කප් රුකකට උපමා කළා. පොල් ගහේ මුල පටන් කොළය දක්වා සියල්ලම හෙළ වෙදකමට වගේම හෙදකමටත්, මානව අවශ්‍යතා ඉටු කරගන්නත් නැතිවම බැරි වුනා. ඒත් අද අපි ඉතාමත් වටිනාම කොටස් කහළ ගොඩට විසි කරල නොයෙක් ලෙඩ රෝගවලින් පීඩා විඳිනවා. ඒවායෙන් අත්මිදෙන්න කාලය තමයි දැන් නැවතත් ඇවිත් තියෙන්නෙ.

ළපටි පොල්, තැඹිලි... ආදියේ තියෙන මේ කහකඩවල රුධිරය කැටි ගැසීමේ, රුධිර වහනය නතර කිරීමේ, නහර පුපුරල ලේ කැටි ඇතිවීම වැළැක්වීමේ ශක්තියක් තියෙනවා. ඉස්සර ගැමියො අතක් පයක් තුවාල වුනාම කුරුම්බ ඇට්ටියක් අරගෙන ගලක උලල එන කල්ක වගේ කොටස තුවාල වෙච්ච තැන ගල්වනවා. ඒකෙන් රුධිරය වහනය වහාම නතර වෙලා තුවාලය වටා ක්ෂණිකව ආරක්ෂිත ආවරණයක් හැදෙනවා. ඒ මගින් තුවාලය ආසාදනය වීම වළක්වල ඉක්මන් සුවය ලබා දෙනවා.

ඒ වගේම මේ කහකඩවලින් අම්ල පිත්ත ප්‍රදාහය නිසා ආසාදනයට ලක් වෙච්ච ආමාශයේ, කුඩා බඩවැලේ, මහ බඩවැලේ තුවාලත් සුව කරනවා. ආමාශයේ කාරම් බැඳිල යම් කොටසක් අක්‍රිය වුනාම අධික ලෙස ආහාර ජීර්ණ එන්සයිම ගලාගෙන එනවා. ඒක නිතර සිද්ධ වුනොත් අභ්‍යන්තර තුවාල පවා ඇතිවෙන්න පුළුවන්. අන්න ඒ වගේ තුවාල වහාම සුව කිරීමේ ශක්තියක් මේ කහකඩවල තියෙනවා. ඒ වගේම ආහාර ජීර්ණයට අවශ්‍ය එන්සයිම අක්‍රමවත්ව ගලාගෙන එනව නම් ඒවා ක්‍රමවත් කරල ඒ පද්ධති යථා තත්ත්වයට පත් කරනවා. ක්‍රමවත්ව ආහාර ජීර්ණය සිද්ධ කරනවා. මලබද්ධය දුරු කරනවා. ක්‍රමවත්ව බහිස්‍රාවී පද්ධතිය ක්‍රියාත්මක කරනවා. මුත්‍රා ආසාදන මගින් හට ගන්නා මුත්‍රා

>

---

හංසවතී නුවර වේදයේ පරතෙර ගිය මන්ත්‍රධාරී බමුණෙක් වෙලා හිටියා. දිනක් ශිෂ්‍යයන් පිරිවරාගෙන ස්නානය සඳහා යනකොට, පදුමුත්තර බුදුන් වහන්සේ පිරිවරාගෙන වඩින සංඝයා වහන්සේලා දැකල ප්‍රසාද සිතින් වැඳගෙන උතුරු සළුව පූජා කළා.

උතුරු සළුව උඩට දැම්මම බුදු පිරිසම වැහෙන විදිහට වියනක් වගේ පිහිටියා. පිඩු සිඟා වඩින තථාගතයන් වහන්සේට ඒ සළුව ගෙයක් වගේ සෙවණ සලසමින් අහසේ පිහිටියා. සර්වඥයන් වහන්සේ පාරේ වැඩ ඉඳගෙන සළු පූජාවේ ආනිසංස මේ විදිහට දේශනා කළා.

සළුවක් පූජා කළ මොහු කල්ප 30 ක් දෙව්ලොවත් පනස් වරක් සක්‍රවත් උපදිනවා. දෙව්ලොවදී සියක් යොදුනක් ඇති වස්ත්‍ර වියනක් ලබනවා. 36 වරක් සක්විති රජ පදවිය ලැබෙනවා. ප්‍රදේශ රාජ්‍ය තනතුරු සීමාවක් නැති තරම්. පිනේ විපාකයෙන් භවයේ සිතූ පැතූ සියල්ලම වහා ලැබෙනවා. කෝසෙය්‍ය, කම්බිලි, කොමුපිළි, කපු පිළි යන වටිනා වස්ත්‍ර මෙලොවදීම ලැබෙනවා.

ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා මඩුවක, රුක් මුලක, හිස් ගෙයක, කොතැනක හිටියත් හාත්පස බඹයක් පමණ ප්‍රමාණයෙන් වියනක් පිහිටනවා. කිසිවෙකුගෙන් ඉල්ලන්නෙ නැතිවම සිවුරු, පිණ්ඩපාත... ආදිය ලැබෙනවා. මේ තමයි උතුරු සළු පූජාවේ විපාකයක හැටි.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

දැවිල්ල, බඩ කොරවීම, කොන්දෙ වේදනා, කකුල් වේදනා සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි.

ඉතින් මේ කහකඩ ප්‍රිය මනාප කහට රසයකින් යුක්ත නිසා, අපි අර ඉස්සර ගන්නව වගේ නිකං වුනත් ආහාරයට ගන්න පුළුවන්. එහෙම නැත්නම් ව්‍යාංජනයක් විදිහට හදාගෙනත් ආහාරයට ගන්න පුළුවන්. ළපටි කහකඩ උලුප්පල හීන් වෙන්න ලියාගෙන, පිරිසිදු පොල් තෙල් ටිකක් ලිපේ තියල සුදු ළූණු බික් දෙක තුනක්, රම්පෙ කරපිංච ටිකක් එකතු කරල හොඳින් රන්වන් පාටට බැදුනට පස්සෙ ඒකට අර කහකඩ ටික එකතු කරනවා. විනාඩි 6 - 7 ක් විතර වහල තියල හොඳින් කලවම් කරල අබ ටිකකුත් එකතු කරනවා. අබ ටික පුපුරනකොට ළූණු ගෙඩි 2 - 3 ක් විතර ලියල ලුණු ටිකක්, කොච්චි ටිකක් / මිරිස් කෑලි ටිකක් එකතු කරනවා. මැල වුනාට පස්සෙ ලිපෙන් බාගෙන දෙහි ඇඹුල් ටිකක් එකතු කරල ආහාරයට ගන්න පුළුවන්. මේ තමයි ඉතා පෝෂ්‍යදායී ඖෂධීය කහකඩ බැදුම.

ඒ වගේම තවත් විදිහකට හදාගන්නත් පුළුවන්. කහකඩ අඟල් 1/2 විතර කෑලිවලට කපල තැම්බෙන්න අවශ්‍ය ප්‍රමාණයට වතුර දාල ලිපේ තියල විනාඩි 7 - 8 ක් විතර තම්බගන්නවා. එතකොට මෙළෙක් වෙලා තිත්ත කහට ගතිය යනවා. ඊට පස්සෙ ඒකට රම්පෙ, කරපිංච, රතු ළූණු, අමු මිරිස් ටිකක් ලියල එකතු කරනවා. පොල් ටිකක්, හාල් ඇට ටිකක්, අබ ටිකක් කබලකට දාල හොඳින් රන්වන් පාටට බැදුනට පස්සෙ කුඩු කරල හෝ අඹරගෙන අවශ්‍ය ප්‍රමාණයට මිටි කිරි දානවා. මේ සියල්ලම කහකඩ ව්‍යාංජනයට එකතු කරල අවශ්‍ය ප්‍රමාණයට ලුණු ටිකකුත් එකතු කරල ගත්තම රසවත් ඖෂධීය කහකඩ ව්‍යාංජනයක්.

එහෙම නැත්නම් කහකඩ හීන් වෙන්න කපාගෙන කෙහෙල් කොළයක ඔතල උණු අලු පල්ලෙ විනාඩි 15 ක් විතර තැම්බෙන්න තියනවා. රතු ළූණු, ගම්මිරිස්, මිරිස්, කරපිංච, ලුණු අවශ්‍ය පමණට අරගෙන හොඳින් අඹරගන්නවා / කොටාගන්නවා. දැන් අර කහකඩවලට මේ මිශ්‍රණය එකතු කරල දෙහි ඇඹුල් ටිකකුත් දාල කහකඩ ලුණු මිරිස විදිහට ආහාරයට ගන්න පුළුවන්.

**වදමල්** - හුඟ දෙනෙක් නොදන්නව වුනාට නිරෝගීමත් දිවි පෙවෙතකට වස විසෙන් තොරව එකතු කරගන්න පුළුවන් තවත් ආහාරයක් තමයි මේ. ඖෂධීය ගුණය ගත්තොත් රුධිර පීඩනය සහ රුධිර ධාවනය නිසි පරිදි පවත්වාගෙන යාම, වහා රුධිරය පිරිසිදු කිරීම, ඌෂ්ණාධික බව දුරු කිරීම කියන ගුණ මේ වදමල්වල තියෙනවා. පොකුරු වද, වැට වද, සුදු වද, සොහොන් වද... ආදී වශයෙන් වද වර්ග කිහිපයක් තියෙනවා. වදවලින් ඉතාමත් ඉහලම ඖෂධීය ශක්තිය ගැබ් වෙලා තියෙන්නෙ පොකුරු වදමල්වල. එකම මලේ තද රතු පාට පෙති ගොඩක් තියෙන මේවායේ කොළ පුංචියි. ඊළඟට සොහොන් වදමල් ගත්තම ඒකත් තද රතු පාටයි. නමුත් පෙති 5 යි. රජ කාලයේ වධකයා විසින් රාජ අණින් මරන්න නියම කළ වැරදිකාරයාට මේ පෙති පහේ රතු වදමල් හෙවත් සොහොන් වදමල්වලින් මල් මාලයක් දාල දංගෙඩියට අරගෙන යනවා. රතු කියන්නෙ රාගය, ද්වේශය මුල් කරගත්ත පාටක්. පෙති පහෙන් රාගය මුල් කරගත්ත පංචේන්ද්‍රියන්ගෙන් කරපු පාප ක්‍රියාවල නිරත වෙලා මරණය ළඟා කරගන්නවා කියන අරුත නැගෙනවා. මල කැඩුවට පස්සෙ මල මැරෙනවා. වැරදි කරපු අයටත් වෙන්නෙ ඒ වගේ දෙයක්. වැරදිකරු දිහා බලල ඒ වගේ වදයක් වෙන දේවල්වලින් වැළකෙන්න කියන පණිවිඩය තමයි ලබා දුන්නෙ. එදා මේ මල් සොහොන්වල වැට මායිමේ හිටෙව්වා. වදයට ලක් වෙච්ච අයගෙන් ලෝකයට පිට වෙච්ච ගුණවලින් බිහි වෙච්ච දේ තමයි වදමල.

**ඒ වගේම මේ පෙති පහේ රතු වද හෙවත් සොහොන් වද ගස්වලට අමනුස්සයො අරක් ගන්නවා. අද නාගරිකව වගේම ගම්බද ගෙවල් ඉදිරිපිටත් මේ සොහොන් වද ලස්සනට කියල හිටවල තියෙනවා. නමුත් මේ ගස්වලින් නිකුත් වෙන්නෙ අමනුස්සයින්ට විතරක් ප්‍රිය මනාප කළු කිරණ වර්ගයක්. එතකොට ඒවා කරා නිරායාසයෙන්ම අමනුස්සයින් ඇදිල එනවා. ඒකෙන් මනුස්සයින්ට අයහපතක් මිසක් යහපතක් වෙන්නෙ නෑ.**

නමුත් රතු පාට වුනත් පොකුරු වද මල් එහෙම නෑ. උෂ්ණ බව සමනය කරන්න පොකුරු වදමල් ඉතා ගුණදායකයි. බිළිඳු දරුවන් නාවනකොට වතුර බේසමට වදමල් දෙක තුනක් දාල අව්වෙ ඇල් මැරෙන්න තියල ඒ වතුරෙන් නැව්වම හමේ තියෙන රතු බිබිලි, රතු ලප සුව වෙනවා.

රතු වදමල් හෙවත් පොකුරු වදමල් ආහාරයට ගැනීමෙන් රතු රුධිරාණු වැඩි වීම, රුධිරය පිරිසිදු වීම සිද්ධ වෙනවා. රතු වදමල් කිහිපයක් අරගෙන කොළ පාට නැටි කඩල ඉවත් කරල හීන් වෙන්න ලියාගෙන රතු ළූණු, දෙහි ඇඹුල්, ලුණු, පොල් අවශ්‍ය ප්‍රමාණයට මිශ්‍ර කරල සම්බෝලයක් විදිහට හදාගන්න පුළුවන්. එහෙම නැත්නම් ලුණු, දෙහි, මිරිස්, ළූණු, ගම්මිරිස්... ආදිය සමග මිටි කිරි ටිකක් එකතු කරල ලිපේ තියල හොද්දක් / ව්‍යාංජනයක් වගේ හදාගන්නත් පුළුවන්. ඒ මගින් රුධිර පීඩනය ශරීරයට අවශ්‍ය මට්ටමට පමණක් පවත්වාගෙන යන්න උපකාර වෙනවා. නිතර ආහාරයට එකතු කරගන්න පුළුවන් නම් ප්‍රබෝධමත් මනසක් පවත්වාගෙන යන්නත් උපකාර වෙනවා.

ඒ වගේම මේ වදමල් අතිරේක ඖෂධීය පානයක් විදිහටත් හදාගන්න පුළුවන්. නටන උණු වතුර අඩු කෝප්පයකට පොකුරු වදමල් දෙකක් දාල විනාඩි 10 ක් විතර වහල තියල වදමල් ඉවත් කරල ඒ වතුරට ලුණු ටිකක්, දෙහි ඇඹුල් ටිකක් දාල රසවත් ඖෂධීය පානයක් විදිහට භාවිතා කරන්න පුළුවන්.

**ඒ වගේම වදමලේ පෙති ඉවත් කළාට පස්සෙ නටුවට උඩින් කහ පාටට කුඩා කොටසක් වෙහෙරක් ආකාරයට පිහිටල තියෙනවා. ඇඟිලි තැලිල ගල් වුනාම, හම යට ලේ තැලිල කළු වුනාම, වදමලේ මේ කොටස අඹරල එළඟිතෙල් එක්ක මිශ්‍ර කරල ඒ තැන්වල ගෑමෙන් සුව වෙනවා.**

**ඒ වගේම නිවෙස්වල තියෙන වාස්තු දෝස ඉවත් කිරීමේ හැකියාවක් සුදු වදමල්වලට තියෙනවා. ඒ සඳහා ක්‍රමවේදයක් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක සිටියදී මතු කරල දීල තියෙනවා. ඒ අනුව, මූල පරාලයකට එල්ල වෙලා ළිඳක් අහු වුනාම, ළිඳට කෙලින්ම වැසිකිළියක් හෝ වැසිකිළි වළක් අහු වුනාම, නිවසේ හතර කොනට ළිඳ හෝ වැසිකිළි වළ අහු වුනාම, ඒ ළිඳ හෝ වැසිකිළි වළ නොපෙනෙන විදිහට අඟල් 8 × 8 ආකාරයට සුදු වද ගස් 8 බැගින් හෝ අවශ්‍ය ප්‍රමාණයට ඊට වැඩි ඉරට්ටේ සංඛ්‍යාවක් හෝ හිටවීමෙන් ඒ දෝසය යම් කිසි ප්‍රමාණයකට මගහරව ගන්න පුළුවන්.**

**කොච්චි කොළ / මිරිස් කොළ** - කොච්චි, මිරිස් ගැන හුඟක් අය දැනගෙන හිටියත් ඒවායේ කොළ ආහාරයට ගන්න බවක් දන්නෙ නෑ. නමුත් මේ කොච්චි කොළ, මිරිස් කොළ කියන්නෙ ඉතා ඉහල ඖෂධීය ගුණයක් තියෙන කොටසක්. හැබැයි මේ කොළ තනි ආහාරයක් වශයෙන් ගන්න බෑ. මොකද තිත්තයි. ඒ නිසා අමතර වශයෙන් සම්බෝලයකට, මැල්ලුමකට හෝ ව්‍යාංජනයකට හෝ එකතු කරල තමයි හදාගන්න ඕන.

ඒ මගින් දිවේ තියෙන රස අංකුර උත්තේජනය වෙනවා. එතකොට ආහාර ජීර්ණය සඳහා අවශ්‍ය එන්සයිම නිසි පරිදි ගලාගෙන ඇවිත් ඒ ආහාරය ශරීරයට ජීර්ණ වෙලා උපරිම ශක්තිය ලබාගන්න උපකාර වෙනවා.

ඒ වගේම අපි ගන්න ආහාරවල උෂ්ණාධික හෝ සීතාධික බව පාලනය කරන්නත් මේ කොච්චි කොළ, මිරිස් කොළ උපකාර වෙනවා. දෙල් වගේ උෂ්ණ ව්‍යංජනයකට කොච්චි කොළ මිටක් දාල සකස් කිරීමෙන් ඒ ආහාරයේ තියෙන උෂ්ණාධික බව මග හැරිල යනවා. ඒ වගේම අපි ගන්න ආහාරවල තියෙන බැක්ටීරියා, වෛරස් ආදී විසබීජ මර්දනය කිරීමකුත් මේ කොළවලින් සිද්ධ වෙනවා. සාමාන්‍යයෙන් ගමේ ගොඩේ හරකෙක්, බල්ලෙක්, පූසෙක් වගේ සතෙකුට තුවාලයක් වුනාම මිරිස් ටිකක් කොටල දිය කරල වත් කිරීමෙන් සුව වෙන්නෙත් ඒකෙ තියෙන ඖෂධීය ගුණය නිසා.

ඒ වගේම කටවහ දුරු කිරීමේ ගුණයකුත් මිරිස්වල තියෙනවා. හේතුව නොදැන හිටියත් වාහනවල ඉදිරිපස දෙහි ගෙඩි කිහිපයක් එක්ක මිරිස් කරල් කිහිපයක් එල්ලන්නෙත් මේ නිසා. ඒ මගින් කෙනෙකුගේ කටින් පිටවෙන වචනවලින් යම් අසුද්ධ ශක්තියක් තමන්ට හෝ තමන් සතු දෙයකට හෝ යොමු වුනා නම්, ඒ කළු කිරණ ශක්තිය දෙහි සහ මිරිස් තුලට ඇද ගන්නවා. ඒ මගින් ඒ අසුද්ධ ශක්තිය යම් කිසි ප්‍රමාණයකට කපා හැරෙනවා. ඒ වගේම යම් කිසි තැනක අමනුස්සයින් ඉන්නව නම් මේ මිරිස්වල සැරට ඒ ස්ථානවලින් ඔවුන් ඉවත් වෙන්නත් හේතු වෙනවා. කටවහ පිච්චීම කියල බහුලව යොදා ගන්නා අබ මිරිස් පුච්චල ගෙවල්වලට දුම් ඇල්ලීමෙනුත් ඒ ස්ථානවල ඉන්න අමනුස්සයින් ඉවත් වෙන්න හේතු වෙනවා.

ඒ වගේම ආමියා දෝස දුරු වීමත් මිරිස් ආහාරයට ගැනීමෙන් සිද්ධ වෙනවා. සෙම් බහුල අයටත් ඉතා වැදගත් ඖෂධීය ආහාරයක්. මිරිස්වල තියෙන ඖෂධ ශක්තියෙන් සෙම බුරුල් වීමත්, ගැලවීමත් සිද්ධ වෙනවා. ඉතා සැරට මිරිස් ආහාරයට ගත්තම ඇස්වලින් කඳුළු වැටිල කන් දෙක අගුල් වැටිල හිස් මුදුනින්, මුහුණෙන් දහදිය දාල... මේ වගේ අවස්ථා හැමෝටම වගේ අත්දකින්න ලැබිල තියෙනවා. ඒ වගේම කිවිසුම් ගිහින් හොටු දියර ගලල නාසය තුල, උගුර තුල තියෙන සෙම ඉවත් වෙලා උගුරෙන් උඩ තියෙන සියලු ඉන්ද්‍රියන් සක්‍රිය වෙනවා. වේගයෙන් හුස්ම අරගෙන, කට තුල තියෙන දැවිල්ල මගින්, අක්‍රිය වෙච්ච ස්නායු, බේට ග්‍රන්ථි, රස ගන්ථි, කඳුළු ග්‍රන්ථි, දහදිය ග්‍රන්ථි, රුධිර නාල... ආදී සියල්ල අධික උත්තේජනයකට ලක් වෙනවා. ඒ විදිහට හිස, ඇස්, කන්, නාසය, උගුර, දිව... යන ඉන්ද්‍රියන් සියල්ලම වේගවත්ව උත්තේජනයකට ලක් වීමෙන් ඒවායේ තියෙන අපද්‍රව්‍ය වහා ඉවත් කරනවා. ඊට අමතරව ශරීරයට අවශ්‍ය ජලය ලබා ගැනීමේ උත්තේජන ක්‍රියාවලියත් මිරිස්වලින් සක්‍රිය කරනවා.

ඒ වගේම අම්ල පිත්ත ප්‍රදාහයට මිරිස් අගුණ නෑ. නමුත් මිරිස් නිසා ආහාර ජීර්ණ පද්ධතිය ඉක්මනින් සක්‍රිය වෙලා තුවාල සමග ස්පර්ශ වුනාම අධික දැවිල්ලක් හට ගන්නවා. ඒ මගින් තුවාල සුව වෙන්නත් හේතු වෙනවා. ඒ නිසා ඒ තුවාල සුව වෙනව මිසක් මිරිස් ආහාරයට නොගෙන හිටියම තුවාල සුව වෙනව කියල දෙයක් වෙන්නෙ නෑ. මේ අනුව මිරිස්වල, කොච්චිවල කොළ, දළු, මල්, ගැට, කරල් මොන විදිහකට හරි ආහාරයට එකතු කර ගැනීමෙන් ශරීර සෞඛ්‍යයට යහපතක්ම වෙනවා. හැබැයි මේ කිව්වෙ මීට පෙරත් 70 කලාපයෙන් සඳහන් කළා වගේ වසවිස නොගහපු අපේ දේශීය මිරිස් වර්ග ගැන.

**<u>නෙළුම් දඬු</u>** - සුදු නෙළුම්, රතු නෙළුම්, සියක් නෙළුම්... ආදී වශයෙන් විවිධ නෙළුම් වර්ග තිබුනත් අද වෙනකොට ඒවායේ තියෙන ඖෂධීය ගුණ හුග දෙනෙක් දන්නෙ නෑ. ආහාරයට ගන්නෙත්, වෙළඳපොළේ විකුණන්න තියෙන්නෙත් නෙළුම් අල විතරයි. ඒත් හරියට ඖෂධීය ගුණ දැනගෙන නෙවෙයි. නෙළුම් කොළ හරියට බාහිර ශක්තිය ඇදගන්න සූර්ය පැනලයක් වගේ. ඒකෙ කෝෂය හෙවත් බැටරිය විදිහට ක්‍රියා කරන්නෙ නෙළුම් අලය. ඒ වගේම නෙළුම් ගෙඩි සහ ඇටත් වෙදකමට වගේම ආහාරය සඳහාත් සුදුසු වටිනා ඖෂධයක්. නෙළුම් මලේ මැද තියෙන බට්ටා වගේ කොටසත් ඉතා වටිනා ඖෂධයක්. ඒ වගේම නෙළුම් කොළ, නෙළුම් දඬු හෙවත් නටු, නෙළුම් මල් පෙති, රේණු, ගෙඩි, ඇට... ආදී මේ සියල්ලම ඉතා ඉහල ඖෂධීය ගුණයෙන් යුක්තයි.

විශේෂයෙන් නෙළුම් කොළය කියන්නෙ ඖෂධ ගබඩාවක්. ශරීරයේ රක්ත උෂ්ණතාවය සහ සෙංගමාලය කියන රෝගී තත්ත්වයන් ඇති වෙච්ච අවස්ථාවක නෙළුම් දළු, ළපටි කොළ කොටල සාමාන්‍ය කැඳක් විදිහට පානය කිරීමෙනුත්, ළපටි කොළ හීන් වෙන්න ලියාගෙන සම්බෝලයක් විදිහට ආහාරයට එකතු කර ගැනීමෙනුත් ඒ තත්ත්වයන් සමනය කරගන්න පුළුවන්. ඒ මගින් විටමින් බී සහ ඊ ඌණතාවයන් මග හැරෙනවා.

**වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතු කරල දුන්න, මේ නෙළුම්වලින් හදාගන්න පුළුවන් තවත් වටිනා ඖෂධීය ප්‍රතිකාර කිහිපයකුත් හැමෝගෙම යහපත පිණිස මේ විදිහට සටහන් කරනවා.**

අධික ලෙස ඇල්කොහොල් භාවිතය නිසා අක්මාව ඉදිමිලා ප්‍රදාහයට පත් වුනාම, එහෙම නැත්නම් වෙනත් ක්‍රමයකින් අක්‍රියතාවයට පත් වුනාම, නෙළුම් කොළ සහ හීන් බෝවිටියා කොළ සමබරට අරගෙන කොටාගෙන එන ඉස්ම සාමාන්‍ය කැඳක් විදිහට සකස් කරල දවස් 10 ක් විතර උදේ හිස්බඩ පානය කිරීමෙන් ඒ රෝගී තත්ත්වයන් සමනය කරගන්න පුළුවන්.

නෙළුම් දඬු කොටල ඉස්ම අරගෙන ඇඟිලි දෙකට අහුවෙන ප්‍රමාණයට සහිඳ ලුණු එකතු කරල කල්ක පදම එනකල් ලිපේ තියල කකාරවල කකුල්වල ආලේප කිරීමෙන් නහර ගැට ගැසීම්, කකුල් ඉදිමීම් සුව කරගන්න පුළුවන්. ඒ වගේම මස් පිඬු ඇතුලෙ තැලිල ගල් වෙච්ච ලේ තියේ නම් ඒවා ඉවත් කරල මස් පිඬු ආශ්‍රිත නහරවල ඇති අසමතුලිතතාවයන් මග හරවල සමනය කරගන්න පුළුවන්. දින 14 ක් විතර උදේ, හවස (උදේ 7.00 ට / හවස 7.00 ට විතර) ගල්වල පැය 3 ක් පමණවත් අඩුම තරමින් තියල උණු වතුරෙන් හෝදල දැමීමෙන් මේ රෝගී තත්ත්වයන් සමනය කරගන්න පුළුවන්.

ඒ වගේම පටිසන්ධියෙන් සිද්ධ නොවුන, යම් කිසි ප්‍රයෝග විපත්තියක් නිසා එන මන්ද මානසිකත්වය තියෙන දරුවන්ට, පිපෙන්න ආසන්න නෙළුම් පොහොට්ටු 7 ක රේණු සහ පෙති හීන් වෙන්න ලියල අරගෙන සාමාන්‍ය සම්බෝලයක් ආකාරයට සකස් කරල දවල් 12.00 ට පෙර මාස 3 - 4 ක් විතර යනකල් දිනපතා ආහාරයට දීමෙන් කර්ම ශක්තියට යටත්ව ඒ රෝගී තත්ත්වයන් සුව කරගන්න පුළුවන්. මේ ප්‍රතිකාරය අවුරුදු 12 ට අඩු දරුවන් සඳහා විශේෂයි.

ඒ වගේම කලින් හොඳට ප්‍රකෘති මානසිකත්වයක් තිබිල පසුව කල්පනාව අඩු වීම, අමතක වීම, තමන් කරන වැඩ කටයුතු පිළිබඳ වැටහීමක් නැති වීම වගේ තත්ත්වයන් තියෙන ඕනෑම කෙනෙකුට, පස් පියුම් පෙති හෙවත්

නෙළුම් මල් වර්ග 5 ක පෙති වේළල, වියළි සමබරට වියළි ඉඟිනි ඇට කුඩු මිශ්‍ර කරල මේස හැඳි 1 බැගින් නටන උණු වතුරට දාල පැය බාගයකට පසු පත එක බැගින් දිනපතා උදේ, රාත්‍රී මාස 3 - 4 ක් විතර පානය කිරීමෙන් ඒ තත්ත්වයන් සුව කරගන්න පුළුවන්. මේ පස් පියුම්වලට සුදු නෙළුම්, රතු නෙළුම්, රතු ඕලු, සුදු ඕලු, නිල් මානෙල්, කුමුදු මල් ගන්න පුළුවන්. මෙතනදී වියළි පස් පියුම් පෙති රේණු සමග ග්‍රෑම් 100 බැගින් ගත්තොත් (ග්‍රෑම් 500 ක්) ඉඟිනි ඇට කුඩුත් ග්‍රෑම් 500 ක් ගන්න ඕන.

ඊළඟට නෙළුම් බට්ට කියල කියන්නෙ මලේ පෙති ගිලිහුනාට පස්සෙ ඉතිරි වෙන සෙවල සහිත ගෙඩියක් වගේ කොටස. අද බහුලවම දකින්න තියෙන අස්ථි ආබාධ, කොඳු ඇට පෙළ ඇදවීම, අස්ථි දිරායාම (ඔස්ටියෝපෙරෝසිස්), ඇට මිදුළු දියවීම, ලියුකේමියාව වගේ රෝගී තත්ත්වයන්ට මේ කොටස ඉතා ගුණදායකයි. මේ කොටස ඉතා හීන් වෙන්න ලියාගෙන උණු වතුරින් මිරිකගෙන පොල් මිශ්‍ර කරල සම්බෝලයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම පිරිසිදු පොල්තෙල් ටිකක් එකතු කරල බැදුමක් විදිහටත්, පොල් කිරි ටිකක් එකතු කරල ව්‍යංජනයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. මේ නෙළුම් බට්ටත් තුල තියෙන ඖෂධීය ශක්තියෙන් ඇට මිදුළු වර්ධනය වෙනවා. ඇට මිදුළුවල තැන්පත් වෙලා තියෙන අපද්‍රව්‍ය වහා ඉවත් කරනවා. ශරීරයේ රතු රුධිරාණු මට්ටම ඉහළ අගයක පවත්වාගෙන යන්න උපකාරී වෙනවා.

ඒ වගේම මේ නෙළුම් බට්ටත් ලොකු වුනාම නෙළුම් ගෙඩි හැදෙනවා. මේ ගෙඩි මේරුවට පස්සෙ ඒකෙ තියෙන පුනීල වගේ කොටස් තුල ඇට හටගන්නවා. මේ ඇට කුඹුරු ඇට හා සමානයි. ඒවායේ තියෙන ඖෂධීය ශක්තිය ඉතා ඉහලයි. හිස මුල් කරගත් ස්නායු දුර්වලතා, අමතක වීම්, සිහි මඳකම... ආදී තත්ත්වයන්ටත් හෙළ වෙදකමේදී මේවා යොදා ගන්නවා. මේ නෙළුම් ඇට වේළල පොතු ඇරල කොටාගෙන පිටි බවට පත් කරල ඒ පිටිවලට පස් පියුම් රේණු (පිටි ග්‍රෑම් 250 කට ග්‍රෑම් 20 බැගින් පස් පියුම් රේණු ග්‍රෑම් 100 ක්) මිශ්‍ර කරල අඹරගෙන ස්වභාවික පිනි දියෙන් අනාගෙන උදේ 7.00 ට නළලට ප්ලාස්ටරයක් විදිහට ආලේප කරල දවල් 12.00 ට හෝදල නෑමෙන් මේ තත්ත්වයන් දුරු කරගන්න පුළුවන්. මේ විදිහට දින 21 ක් දවසක් හැර දවසක් කරන්න. ප්ලාස්ටරය දාන්නෙ නැති දවස්වලට ස්නායු තෙල ගල්වන්න. (වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ ඉරිදා දිනවල පැවැත්වෙන අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය තුලින් මේ තෙල ලබා ගන්න පුළුවන්.)

ඒ වගේම මේ නෙළුම් ඇට පිටි රොටි, කැඳ, පිට්ටු, තලප හදන්න ගන්නත් පුළුවන්.

මේ නෙළුම් ගෙඩියේ ඇට ඉවත් කරල, ඉතිරි සියල්ල පුච්චගෙන අළු අරගෙන කුඩලු දෙහි ඉස්මෙන් අනාගෙන දින 21 ක් විතර ගල් තැළුම්වලට තියල බැඳීමෙන් සුව වෙනවා.

නෙළුම් දඬුත් (නටු) ඉතා වටිනා ඖෂධයක්. අම්ල පිත්ත ප්‍රදාහය, මල බද්ධය, මහ බඩවැලේ සහ කුඩා බඩවැලේ තියෙන අපද්‍රව්‍ය, කාරම් ඉවත් කරල ශ්ලේෂ්මල ග්‍රන්ථිවල ඇති අක්‍රියතාවයන් සහ සියලු නහර දුර්වලතා මග හරවා ගන්නත්, ස්නායු පද්ධතිය සක්‍රිය කරන්නත් මහඟු දායකත්වයක් සපයනවා. නෙළුම් අලයත් කොළයත් අතර තියෙන, එහෙම නැත්නම් මලත් අලයත් අතර තියෙන මේ දඬු පිහියකින් පෙරං ගාගෙන කටු ගතිය සුද්ධ කරල හීන් වෙන්න කපාගෙන කොහිල දළු මාළුවක් සකස් කරන ආකාරයට හදාගෙන ආහාරයට ගන්න පුළුවන්. අවශ්‍ය නම් තෙම්පරාදු කර ගන්නත් පුළුවන්.

ඒ වගේම ඉහත සියලුම ගුණ නෙළුම් අලවල ගැබ් වෙලා තියෙනවා. වකුගඩු අක්‍රිය වීම වැළැක්වීම, වකුගඩුවල තැන්පත් වෙච්ච කාරම් සුද්ධ කිරීම, මුත්‍රා පද්ධතිය ආශ්‍රිත ආසාදන තත්ත්වයන් පහ කරල යථා තත්ත්වයට පත් කිරීම, මුත්‍රාශයේ, වකුගඩුවල කැල්සියම් තැන්පත් වීම වැළැක්වීම, මහ බඩවැලේ බැඳිල තියෙන කාරම් ඉවත් කිරීම... ආදී ක්‍රියාකාරකම් රැසකට අවශ්‍ය ශක්තිය නෙළුම් අලවල තියෙනවා.

නෙළුම් අල මතු පිටින් ටිකක් හූරල උණු වතුරෙන් තම්බගෙන හීන් වෙන්න ලියාගෙන සාමාන්‍ය සම්බෝලයක් ආකාරයටත්, සාමාන්‍ය එළවළු ව්‍යංජනයක් ආකාරයටත් ආහාරයට ගන්න පුළුවන්. මේ අනුව බලනකොට මේ නෙළුම් ශාකයම ඖෂධ ගුහාවක්. නමුත් දැන් තියෙන කෘමි නාශක, වල් නාශක... ආදී වස විස භාවිතය නිසා අපවිත්‍ර නොවෙච්ච ජලාශවල හැදෙන නෙළුම් විතරක් ආහාරයට ගන්න සැළකිලිමත් වෙන්න ඕන. **හැබැයි විශේෂයෙන් මේ නෙළුම් මල් ගන්නකොට බුදුන්ට පූජා කරපු මල් එහෙම ගන්නව නෙවෙයි. පූජා කරල ඉවතට දැම්මත් ඒවා වෙනත් දෙයකට යොදාගන්න කැප නෑ.** මේ පිළිබඳව මීට පෙරත් මේ සඟරාවෙ පළ වෙන අභයරතනාලංකාරය යටතේ විස්තර කරල තියෙනවා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## පින්වතුන්ගේ හඳුනා ගැනීමේ පහසුව පිණිසයි

"වස විස ආහාරවලට එරෙහි විකල්ප" නම් මාතෘකාව යටතේ මෙතෙක් පළ කරන ලද සියලුම ස්වභාවික කොළ, ගෙඩි... ආදී ආහාර වර්ගවල ඡායාරූප http://www.helabodhupiyuma.net/nonetoxicfood වෙබ් අඩවිය ඔස්සේ වෙනම ඇතුලත් කර ඇති අතර, ඉදිරියේදී පළ කෙරෙන ආහාර වර්ගවලත් ඡායාරූප ඒ අයුරින්ම ඇතුලත් කෙරෙනු ඇත.






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා, ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන් තවත් ප්‍රත්‍යක්‍ෂ සමාධිමය අත් බෙහෙත් කිහිපයක් මෙවරත් ඔබගේ ප්‍රයෝජනය පිණිස සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බව සළකන්න. ඒ වගේම ලෙඩ රෝගවලට කර්මය මුල් වෙන නිසා, ඒ කර්ම විපාක ගෙවා හැරීමට සාසනික වත්පිළිවෙත්වල නියැලෙන ගමන් ප්‍රත්‍යවේක්‍ෂාවෙන් යුතුව මේ බෙහෙත් පරිහරණය කිරීමෙන් ඉක්මන් ප්‍රතිඵල ලබාගන්න පුළුවන්. මේ හැම අමුද්‍රව්‍යයක්ම සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා තමන්ට අවශ්‍ය විදිහට ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය අඩු වැඩි කරගන්න පුළුවන්.

## රුධිරයේ අපද්‍රව්‍ය ඉවත් කර මුත්‍රා සුද්ධ වීම සඳහා

අවශ්‍ය අමුද්‍රව්‍ය : අක්කපාන කොළ ග්‍රෑම් 500 යි, සුදු හඳුන් කොළ ග්‍රෑම් 200 යි, දෙහි ගහේ පස් පංගුව (කොළ, පොතු, මුල්, ගෙඩි, මල්) ග්‍රෑම් 100 බැගින්, හීන් උඳුපියලි ග්‍රෑම් 500 යි, බෙලි ගහේ පස් පංගුව ග්‍රෑම් 100 බැගින් (බෙලි ගෙඩි ගන්නකොට ඉතාම ළපටි ගැට ගන්නෙ නැතිව සාමාන්‍යයෙන් ගිරයකින් කපන්න පුළුවන් මට්ටමේ ගැට ගන්න), වියළි නිරමුල්ලිය ගස් සහමුලින්ම කිලෝ 1 යි, ඉඟිනි ඇට කුඩු ග්‍රෑම් 400 යි (පෙනේරයකින් හලාගෙන පාවිච්චියට ගන්න), දිය තිප්පිලි ඉස්ම බෝතල් 1 යි.

නිරමුල්ලිය, ඉඟිනි ඇට කුඩු සහ දිය තිප්පිලි හැර ඉතිරි අමුද්‍රව්‍ය කොටාගෙන අවශ්‍ය ප්‍රමාණයට පිරිසිදු වතුර දමා මිරිකගෙන ඉස්ම ටික ගන්න. ඉඟිනි ඇට කුඩු සහ වියළි නිරමුල්ලිය කුඩු එකට කලවම් කරල ඉහත මිරික ගත්ත ඉස්මෙන් අනාගෙන ලිපේ තියල පැය බාගයක් හෝ ඊට වැඩි ප්‍රමාණයක් රත් කරන්න. වැඩිපුර තියෙන ඉස්ම හිඳුනට පසු බාගෙන, නිවුනට පසු දිය තිප්පිලි ඉස්ම බෝතලය මිශ්‍ර කරල කෝපි ගෙඩි තරමට ගුලි හදල වේළගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් ගන්න. දින 15 ක් අරගෙන අවශ්‍ය නම් ඉදිරියට තවත් සුදුසු පරිදි ගන්න.

මේ මගින් රුධිරයේ අපද්‍රව්‍ය සුද්ධ වෙනවා. මුත්‍රා හොඳින් පෙරෙනවා. ඒ වගේම කොලෙස්ටරෝල් සුද්ධ වෙන්න මීට පෙර සඳහන් කළ (14 කලාපයෙන්) නා පෙති ආදී බෙහෙත් සමග මේ ගුලිත් සුදුසු පරිදි භාවිතා කරන්න ඕන.

## සෙම නරක් වීමෙන් හට ගත් සියලු රෝගාබාධ සඳහා

කොත්තමල්ලි ඇට, අසමෝදගම් ඇට, වෙනිවැල් ගැට, තිප්පිලි, වලඟසාල් කියන මේ අමුද්‍රව්‍ය කබලේ රන්වන් පාටට එනකල් බැදගෙන කුඩු කරගෙන ග්‍රෑම් 500 බැගින් ගන්න.

මේ මිශ්‍රණයට වතුර දාන්නෙ නැතිව හදාගත්තු තල්පිති ඉස්ම බෝතල් 4 - 6 ක් දමා අනාගෙන කෝපි ගෙඩි ප්‍රමාණයට ගුලි කරල වේළල තියාගන්න. (ගුලි කරගන්න මදි නම් බෝතල් 12 ක් වෙනකල් දමා දියාරු වැඩි නම් සෙල්සියස් අංශක 75 උෂ්ණත්වයේ වැඩි ජලය හිඳ ගන්න). උදේ, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාස 3 ක් හෝ ඊට වැඩි කාලයක් ගන්න.

මේ මගින් සෙම් නරක් වීමෙන් හට ගත් සියලු ආබාධ, සෙම් උණ වගේම ඇල දිව ඉදිමීම, අධික ලෙස මත්පැන් පානය කිරීමෙන් සිදුවන බඩ ඉදිමීම, පෙණහැල්ල සහ හෘදය ආශ්‍රිතව වතුර එකතු වීම... ආදී රෝගාබාධ සුව වෙනවා.

## ශරීරගත විස සමනයට චූර්ණයක්

බැබිල මුල්, සුදු එෑණු, පාවට්ට පස් පංගුව වෙන වෙනම, රසකිඳ, දේශීය දෙළුම් ලෙලි, හීන් අරත්ත ගහ සහමුලින්ම, වෙනිවැල් ගැට, තිප්පිලි, අසමෝදගම් ඇට යන මේ අමුද්‍රව්‍යවලින් වියළි බර ග්‍රෑම් 200 බැගින් ගන්න. මේ සියල්ලම වතුර බෝතල් 12 ක් දමා 2 ට හිඳගෙන පෙරාගන්න.

එහෙම නැත්නම් මේ අමුද්‍රව්‍ය සියල්ලම කුඩු කරගෙන ඇඟිලි අතරින් මිරිකෙන පදමට වතුර දමා පැය 12 ක් තියල යන්ත්‍රානුසාරයෙන් මිරිකගෙන ඉස්ම ගන්න.

ඊළඟට අමු මී මල් කිලෝ 2 යි, පිරිසිදු තල තෙල් බෝතල් 1 යි, පිරිසිදු එළඟි තෙල් බෝතල් 1/2 යි, සුදු සූකිරි ග්‍රෑම් 500 යි, කිතුල් පිටි කිලෝ 1 යි. මේ අමුද්‍රව්‍ය එකට අඹරගෙන ඉහත ඉස්මවලට මිශ්‍ර කරල ලිපේ තියල සෙල්සියස් අංශක 60 ට රත් කරල දිය හිඳුනට පසු බාගන්න.

උදේ, රාත්‍රී ආහාරයට පසු තේ හැඳි 1 1/2 බැගින් සති 2 - මාස 6 ක් දක්වා ගන්න.

මේ මගින් පිත් විස නිසා එන බඩ පපුව දැවිල්ල, උණ, හිසේ ආබාධ, පිත් ක්ලාන්ත කැරකිල්ල, දහදිය දැමීම, අතපය රත්වීම, රක්ත කුෂ්ඨ, නින්ද නොයෑම, කොඳුඇටපෙළේ සහ තුනටියේ කැක්කුම, බෙල්ලේ ලේ ගමන් කරන නහර කුඩා වීම නිසා හිසට ලේ ගමන් කිරීම දුර්වල වීමෙන් නිතර නිතර එන හෝන්දු මාන්දු ගතිය (උප්පත්තියෙන් නොවන පසුකාලීන ප්‍රයෝග විපත්ති නිසා එන), වලිප්පුව (ෆිට් එක), අධි රුධිර පීඩනය සුව වෙනවා.

## කටී වායුවේ තෙරපීම් නිසා එන තුනටිය වේදනා සමනයට

ඉඟිනි ඇට කලං 1 යි, කරදමුංගු ඇට කලං 1/2 යි, කපුරු පෙති කලං 6 යි, අවශ්‍ය ප්‍රමාණයට මී තෙල් දමා අඹරගෙන රත් කරල චූර්ණ කරල තියාගෙන උදේට ප්ලාස්ටරයක් විදිහට ගල්වල පැය 5 ක් තියන්න. දින 7 යි. ප්ලාස්ටරය ගලවල උණු වතුර නාන්න. නැත්නම් උණු වතුරින් පොගවපු රෙදි කැබැල්ලකින් පිහදාන්න. කපුරු පෙතිවල සැරට දැවිල්ලක් එන්න පුළුවන් නිසා ප්ලාස්ටරය දමනකොට කෝමාරිකා පිති බාගයක මදය සමග අඹරගෙන ගැල්වීමෙන් ඒ තත්ත්වය දුරු කරගන්න පුළුවන්.

(මේ රෝගී තත්ත්වය සඳහාම තවත් අත්දුටු ප්‍රතිකර්මයක් හෙළ බොදු පියුම 34 සහ 35 කලාපවල සඳහන් කරල තියෙනවා.)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

**සම්මා සම්බුදු රජාණන් වහන්සේ ප්‍රමුඛ අරිහතුන් වහන්සේලාගේ අති උත්තම ගුණස්කන්ධය උදෙසා, දෙව් මිනිස් බඹුන් විසින් වන්දනාමාන කරන සේ සිදු කෙරෙන පුණ්‍ය මහෝත්සවය**

**වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ වැඩ විසූ අනුරාධපුර අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුනේදී**

2018 ක් වූ ඇසළ මස (ජූලි) 28 වන දින චෛත්‍ය රාජයාණන් වහන්සේගේ කොත නිරාවරණය කිරීම, ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ ශාඛා වහන්සේ රෝපණය කිරීම, අභිනව බුද්ධ මන්දිරය නිරාවරණය කිරීම,

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ පිළිරුව නිරාවරණය කිරීම.

29 වන දින සිව්වනක් පිරිස උදෙසා දහවල් දානය පූජා කිරීමට කටයුතු සලසා ඇත.

මෙම අති දුලභ පිංකම් මාලාවට සහභාගී වීම සඳහා ඔබ සියලු දෙනාට මෙත් සිතින් ඇරයුම් කරමු.

විමසීම් :- 0766 440 665, 0778 338 683, 0773 614 646, 0773 145 091

---

## නිරපේක්ෂත්වයේ මග

පූජ්‍ය වලස්මුල්ලේ අභය හිමියන් විසින් සිදු කළ සියලුම වැඩසටහන් සඳහා පිවිසෙන්න,

www.youtube.com/nirapekshathwayemaga/playlists

www.facebook.com/nirapekshathwayemaga

www.nirapekshathwayemaga.com/

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.waharaka.com webmaster@helabodhupiyuma.net 071 3046895 / 036 2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 82 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඉසුරු සේනාරත්න මහතා - පිටකෝට්ටේ ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දයකත්වය**

■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - දේහාකටාර් - රු. 25,090/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ මධුර ශ්‍රී හංස මහතා - මීගමුව - රු. 15,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ ජී. ඩී. ගුණවර්ධන මහතා - බත්තරමුල්ල - රු. 10,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ ප්‍රේමවර්ධන මහතා - ගලේවෙල - රු. 5,000/- ■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමික ලියනගේ පුතා, ලිතුලි ලියනගේ දුව, තිසරි ලියනගේ දුව - මහර - රු. 5,000/- ■ රුවන් පීරිස් මහතා සහ ලලිත් ද සිල්වා මහතා ඇතුළු පවුලේ සැම - නවසීලන්තය - රු. 5,000/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහත සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 3,000/- ■ ආර්. පී. පතිරණ මහතා - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රන්දිල් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,700/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ දුලේන් ප්‍රියංකරගේ මහතා සහ ඉසුරි ප්‍රියංකරගේ මහත්මිය - වත්තල - රු. 2,500/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පවුලේ සැම - තිහාරිය - රු. 2,500/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 2,500/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 2,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ එල්. එම්. සුනිල් මහතා - දෙවිනුවර - රු. 2,000/- ■ වෙත්තිමුණි අජිත් දීපතිලක මහතා - මරඳගහමුල්ල - රු. 2,000/- ■ කේ. කේ. දිනරාජ මහතා සහ රංජිත් සිරිවර්ධන මහතා - නෙළුව - රු. 2,000/- ■ ජී. එච්. ඒ. පුබුදු ලක්ෂාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ එස්. ඩී. සමීර සුමිත් කුමාර මහතා සහ කේ. ඒ. දිලීනා සඳරුවනි මහත්මිය - කඹුරුපිටිය - රු. 2,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 2,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 2,000/- ■ එම්. පී. ප්‍රේමරත්න මහතා සහ එම්. පී. ශේන් වාල්යා මෙනවිය - කටුවාවල - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලකසිරි ජයරත්න මහතා, රොෂාන් මාලක මහතා, චතුරානි ඉන්දිකා මහත්මිය, හිමාෂා සේමිණි දුව, තිනෙත් හිමාෂ පුතා - පස්යාල - රු. 1,400/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ ප්‍රේමා ගීකියනගේ මහත්මිය ඇතුළු පවුලේ සැම - කුඩාඋඩුව - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ උදේශා සංජීවනී මහත්මිය - යක්කල - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදස මහතා - දිවුරුම්පිටිය - 1,000/- ■ එච්. එන්. ජී. වයි. නාඳුගල මහතා - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - කැලණිය - රු. 1,000/- ■ මාලිනි බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ සෝමා කස්තුරිආරච්චි මහත්මිය සහ ජී. බී. කේ. ලියනගේ මහතා - අල්ගම - රු. 1,000/- ■ නාලක ද සිල්වා මහතා සහ නන්දි ද සිල්වා මහත්මිය ඇතුළු පවුලේ සැම - කිරුළපන - රු. 1,000/- ■ ඒ. ඒ. වින්ධ්‍යා නිර්මාණි දුව - රදවාන - රු. 1,000/- ■ කේ. එම්. කේ.

උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ රේණුකා ප්‍රියදර්ශනී මහත්මිය - මණ්ඩාවල - රු. 1,000/- ■ එම්. එස්. ගුණවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - මරදන - රු. 1,000/- ■ පුණ්‍යා මැදගම මහත්මිය - කඩවත - රු. 1,000/- ■ වික්‍රමරත්න මහතා - තංගල්ල - රු. 1,000/- ■ සරිත් ජයසූරිය මහතා - කෑගල්ල - රු. 1,000/- ■ වෛද්‍ය සංජීව මලින්ද මහතා සහ ඉසුරු ගනේආරච්චි මහතා - රු. 1,000/- ■ රොෂාන් විජේරත්න මහතා - දෑදිගම - රු. 1,000/- ■ කේ. එච්. එම්. සුමනාවතී මහත්මිය - වටරැක - රු. 1,000/- ■ කුමාරි වික්‍රමතුංග මහත්මිය - රු. 1,000/- ■ චාරුනී අබේරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - වේවැල්දෙණිය - රු. 1,000/- ■ සෙනෙහෙලතා මහත්මිය ඇතුළු පවුලේ සැම - වේවැල්දෙණිය - රු. 1,000/- ■ ටී. වීරමුණ්ඩ මහතා - කළුතර - රු. 1,000/- ■ තනුෂා වනිගරත්න මහත්මිය - වැලිවේරිය - රු. 1,000/- ■ චමීර ගයාන් මහතා - තණමල්විල - රු. 1,000/- ■ ආර්. එම්. නවරත්න මැණිකේ මහත්මිය - රද්දොළුව - රු. 1,000/- ■ ආර්. චන්ද්‍රදාස මහතා - උඩුපිල - රු. 1,000/- ■ ගයාන් ප්‍රසංග සිරිවර්ධන මහතා - අලපලාදෙනිය - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, දුමින්ද සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, ජගත් අබේසුන්දර මහතා, සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ, දුලිප් තනුජ දික්කුඹුර මහතා - කළගෙඩිහේන, මහේෂ් සුරංග මහතා - රදවාන - එකතුව - රු. 5,800/- ■ විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 1,200/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 292,390/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 12,620/- ■ සම්පූර්ණ වියදම - රු. 407,870/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.19/- සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඳිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මුණගම, හොරණ - 071 2608776 ■ උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ හොරණ වාසනා බේකර්ස්, අංක 31, තිස්ස පාර, වැල්ලවාය - 071 8375871 ■ අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071 8261500 / 066 2245353 ■ චන්දුල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ශ්‍රී සුදර්ශනාරාමය, මහවෙල, මාතලේ 076 7997638 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආගියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජිදගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර 077 4182684 / 077 0844980

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# ඛේම සිටු



ඛේම නමැති සැවතෙහි විසූ සිටු පුතෙකි
සෑම ඉසුරු සපිරුන මහ ධනවතෙකි
බෝම රුසිරු පෙර පින ලෙස ලද රුවකි
කාම සැපෙහි ගිජු අඟනුන් රිසි අයෙකි

පර අඹුවන් වෙතට මොහු යන බව දන්නා
පුර වැසියන් අතර තරහව මතු වෙන්නා
නර පතිඳුන් හමුව පැමිණිලි කර පෙන්නා
කර අවමන් මොහුට එරෙහිව හඬ දුන්නා

අනේ පිඬු සිටුගෙ බෑනණුවෙකි ඛේම
සෙනේ බැඳුන රජු සිටු මිතුරුය බෝම
දැනේ රජුට නොයුතුය එරෙහිව යෑම
පෙනේ සිටුට හැකි බව මෙය විසඳීම

මහ සිටු එලෙස බුදු හිමි හමුවට යන වා
පහ දයි කරුණු මොහු ගැන හිමි විමසන වා
මොහ ඳුර සියලු අකුසලයට මුල වෙන වා
යහපති මොහු රැගෙන එනු හිමි පවසන වා

කාමය යනු පහත් අකුසලයකි නිවට
සාමය නසයි නින්දා අපහස එමට
පාපය අනුව නිසැකව යයි දුගතියට
ඛේමය ඔබට නින්දක් නොලැබෙයි රැයට

හුදු කම් සුවය නිසරුය නුවණැස පෑදූ
බුදු හිමි දෙසුව බණ පද සිතැ මල සේදූ
රුදු භව දුකට විසඳුම ගැන සිත වීදූ
සිදු වුන අසිරියකි මග වැටහුනි සාදූ

(ධම්ම පදය - නිරය වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# බණ දම් දෙසන්නට අවසර නැතිද රටේ...?

බණ දම් දෙසන්නට ගමකට වැඩිය සඟ
අණකට යටත් වූ පුවතකි දුදන ළඟ
නැණ ඇති අයට මග ඇහිරුව පිරිසෙ රඟ
දැන ගනු බොදුනුවන් ලෙස මේ ලොවෙහි වග

ගලවා සිවුරු පිටමං කරනටද දෙඩූ
පලවා එන්න බැරි ලෙස කඩනවලූ අඬූ
එළවා සිහිය ඒ හිමිවරු දහම වැඩූ
මොළවා ඇත අවිය මේ නිවනටද නඩූ

බොදුනු වෙස් පෙරවගෙන සුදු කහද හැඳ
බිඳුනු ගුණ ඇතිව සිටි මේ පිරිස මැද
සැදුනු නිවන් මග අතැතිව සිටිය සඳ
රිදුනු බවක් නොහැඟිය සමවතට වැද

ඇරයුම් පිට දහම් දෙසුමන් කරන වෙලේ
ගැරහුම් කුමට තම නැණ පමණටය කළේ
හරසුන් දෑම පිරි ගිනි ගත් තිලොව තලේ
සුරකින්නද කුමක් දඟලා නොමැත එලේ

කුණකින් යැපෙන ඇතැමුන් දහමටද ගැටේ
සැණකින් මළොත් ගැලවුම් නැත නිරය කටේ
ගුණ දම් වඩා යන පිරිසට හතර වටේ
බණ දම් දෙසන්නට අවසර නැතිද රටේ

සම් බුදු සසුන බූදලයක් නොව කාගේ
දම් කඳ පොදුය ගලනා ගඟුලක් වාගේ
නිම් නැති සසර කරගෙන මම මට මාගේ
තුම් ගුණ කඳ නසා කොහි යන්නද වේගේ

තමනට ලැබෙන ලහ කිත් පැසසුම් පරදා
අම දම නැගෙන විට ඉවසුම් නැති වරදා
පමණට වැඩිය ගියහොත් මේ කය හැරදා
කුමටද නිරය නම් කිව් කළ දෑ පෙරදා

පෙරත් මෙලෙස බුදු හිමි වැඩ සිටි කාලේ
කළත් අපවාද ටික කලකට බාලේ
මළෙත් නිරය ගති පහලව යන තාලේ
සිතත් බොදුනු ලෙස නැත පිහිටිය සීලේ

රකින්නට කියා බුදු දම ගැටෙන විට
බුදුන්ටද නිගාවකි දෙසු දහම සෙට
නිවෙන්නට තියෙන දම් මග කරණ කොට
නසන්නට හැකිද තවෙකෙකු දහමෙ සිට

සසුන තුල කෙරෙන නෙක දුසිරිතද ඇත
වැසුන එවැනි දෑ ගැන කිසි හඬද නැත
පැසුන දහම නැග එන විට රිදෙන සිත
ඇසුන විගස මරුවෙකි ගැටුමකට යත

තවත් මෙවැනි දෑ රට තුල සිදු වෙනවා
නවත් වන්න කිසිවෙක් වෙර නොදරනවා
පවත් වන පැතුම් නැති අය සිත දිනවා
ඉවත් වෙයි ගැටුම් මැද නිවනම තනවා

ඉවසීමෙන් බලා ලොව සොබ දකින නියා
අවබෝධයට ගෙන තවදුර ගැටෙනු නොයා
නිවනේ තියෙන සැනසුම දෙන සුවය සොයා
භව දුක නසමු සතුරන්ටද කරමු දයා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1082 RS.25.00

HELA BODHU PIYUMA 82

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී